# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා

ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා

අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා

පිළිගනු මැන අප භක්ති පූජා

නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා

ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති

ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ

ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ

නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා

ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා

එක මවකගෙ දරු කැල බැවිනා

යමු යමු වී නොපමා

ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමඟ මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතරම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරුදැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

ගරු ජේ. ඒ. මිහිරි ද සිල්වා දේවගැතිතුමිය - ලේකම්, ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම,
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය,
බෞද්ධාලෝක මාවත, කොළඹ 07.

කේ. ආර්. සේපාලිකා පෙරේරා - ගුරු වෘත්තිය, ක්‍රිස්තුරාජ ජාතික පාසල
තුඩැල්ල, ජාඇල

ගෞ. සී. ඩබ්. සී. බාල්රාජ් දේවගැතිතුමා - විදුහල්පති, ශාන්ත තෝමස් විදුහල,
බණ්ඩාරවෙල.

**ලේඛක මණ්ඩලය**

එස්. පී. සී. ප්‍රනාන්දු - ගුරු වෘත්තිය, වෙස්ලි විද්‍යාලය,
කොළඹ 06

ඒ. කිතුමිණි සල්ගාදු - ගුරු වෘත්තිය, බප/මීග/ කටුනායක ම.වි,
කටුනායක.

මල්මි රශ්මිදා පීරිස් - ගුරු වෘත්තිය, වේල්ස් කුමරි විදුහල,
මොරටුව

එම්. පී. සෙල්වනිදි පෙරේරා - ගුරු වෘත්තිය, (විශ්‍රාමික)

ඩී. ග්ලොරි හෙබ්සිබා - ගුරු වෘත්තිය, ගම්පොළ හින්දු විද්‍යාලය,
ගම්පොළ

**භාෂා සංස්කාරක**

රංජිත් ඉලුප්පිටිය - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**චිත්‍ර හා පිටකවරය**

ඩබ්.පී. සුසිල් ජයශාන්ත පෙරේරා - චිත්‍ර ශිල්පී

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි -පරිගණක සහායක,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

පිටු අංකය

# 1 දෙවිඳු මැවූ මනහර ඒදන් උයන

උත්පත්ති 2 : 8-9



1.1 රූපය - ඒදන් උයන

අයියා : නංගී අහලා තියෙනවා ද ඒදන් උයන ගැන?

නංගී : ඒදන් උයන කියන්නේ දෙවියන් වහන්සේ විසින් මවන ලද මනුෂ්‍යයා, ජීවත් වුණු උයන නේද?

අයියා : ඔව්, බයිබලයේ සඳහන් වෙනවා දෙවි සමිඳාණන් වහන්සේ උයනක් මැවූ බව. ඒ උයනට ඒදන් උයන කියා දෙවියන් වහන්සේ නමක් තැබුවා. උන්වහන්සේ විසින් මවන ලද මනුෂ්‍යයා ඒ උයනේ පදිංචි කරවනු ලැබුවා.

නංගී : ඒදන් උයන හරි ලස්සන ඇති නේද?

අයියා : ඔව්, එය ඉතා දැකුම්කලු බව බයිබලයේ සඳහන් වෙනවා. ප්‍රණීත පල දෙන සියලු ගස් එහි තිබිලා තියෙනවා.

නංගී : එහෙනම් ඒ උයනේ මිදි, රඹුටන්, අඹ, අන්නාසි වගේ රස පලතුරු වර්ග තියෙන්න ඇති. මනුෂ්‍යයා හරි ම සතුටින්, බඩ පිරෙන්න ඒ පලතුරු කන්න ඇති නේද අයියේ?

අයියා : නංගී, පලතුරු ගස් පමණක් නොවෙයි ඒ උයන මැද දෙවි පියාණන් වහන්සේ තවත් විශේෂ ගස් දෙකක් පොළොවෙන් හටගන්න සලස්වා තිබුණා.

නංගී : ඒ මොනවා ද අයියේ?

අයියා : එකක් ජීවන වෘක්ෂය. අනෙක හොඳ නරක අවබෝධ කර ගැනීමේ ගස.

නංගී : අනේ මටත් ඒදන් උයනේ ඇවිදින්න තිබුණා නම්....!

අයියා : ඔව් නංගී, දෙවි පියාණන් වහන්සේ මනුෂ්‍යයාට කොපමණ ආදරෙයි ද කියා මේ මනහර ඒදන් උයනේ අපට ලබා දී ඇති දේවලින් හොඳින් පැහැදිලි වෙනවා.

**දෙවියන් වහන්සේ විසින් මවන ලද මනහර ඒදන් උයන ගැන ස්තුති වේවා !**



**කටපාඩම් පදය:**

දෙවි සමිඳාණන් වහන්සේ පූර්ව දිශාවේ ඒදන්හි උයනක් තනා තමන් මැවූ මනුෂ්‍යයා එහි පිහිටෙවූ සේක.

උත්පත්ති 2:8



## පැවරුම

කෙටි පිළිතුරු ලියන්න.

1. දෙවි සමිඳාණන් වහන්සේ විසින් මවන ලද උයනේ නම කුමක් ද?
2. එම උයනේ තිබූ විශේෂ වෘක්ෂ **දෙක** නම් කරන්න.
3. දෙවියන් වහන්සේ විසින් මවන ලද ලෝකයේ තිබෙන අප රස විඳින ප්‍රණීත පලතුරු වර්ග **පහක්** නම් කරන්න.
4. දේව මැවිල්ල ආරක්ෂා කිරීමට ඔබට ගත හැකි ක්‍රියා මාර්ග **දෙකක්** ලියන්න.

# 2 දේව මැව්ල්ලේ අගනා වස්තු

උත්පත්ති 2 : 10-15

දෙවියන් වහන්සේ විසින් මවන ලද ඒදන් උයනට ජලය සැපයීමට ගංගාවක් ගලා ගියේ ය. එම ගංගාව උයනින් පිටත දී අතු ගංගා හතරකට බෙදිණි. ඒවා පිෂොන්, ගීහොන්, ටයිග්‍රීස් සහ යුප්‍රටීස් ලෙස නම් කර තිබිණි.



2.1 රූපය - ඒදන් උයනෙන් ගලා යන ගංගා හතර

මේ ගංගා අතරින් පිෂෝන් ගංගාව හවිලා නැමැති ප්‍රදේශය වටා ගලා ගියේ ය. එම ප්‍රදේශයේ පොළොව යට රත්රන් තිබිණි. ඒවා ඉතා ඉහළ වටිනාකමින් යුත් අමිශ්‍ර රත්රන් විය.

රත්රන් පමණක් නොව ගන්ධරස ද වටිනා මැණික් වර්ග ද මේ ගංගා ආශ්‍රිත පොළොව යට තැන්පත්ව තිබිණි. ගන්ධරස, නොයෙක් සුවඳ විලෙවුන් සෑදීමට යොදා ගැනේ.

රත්රන්වලින් සහ මැණික්වලින් අලංකාර ආභරණ තනා පැලඳීමට බොහෝ දෙනා ප්‍රිය කරති. මැණික්, පොළොවෙන් ලබා ගන්නා ඉතා ඉහළ වටිනාකමකින් යුත් සම්පතකි. ආභරණ තැනීමේ දී නොයෙක් වර්ගයේ මැණික් යොදා ගැනේ. ශ්‍රී ලංකා පොළෝ තලයේ ද ඉතා වටිනා මැණික් තිබෙන බව ප්‍රසිද්ධ ය.



2.2 රූපය - මැණික් යොදා සාදන ලද ආභරණ

දෙවියන් වහන්සේ ඒදන් උයනේ මනුෂ්‍යයා පදිංචි කරවීමේ දී ඔහුට උවමනා සියලු දේ සැපයූ සේක. එහි දී මනුෂ්‍යයාට අවශ්‍ය ආහාර පාන, පලතුරු, ඇළ දොළ, ගංගා මෙන් ම රත්රන්, ගන්ධරස හා මැණික් වැනි අගනා සම්පත් ද සපයා දුන් ආකාරය විස්මයජනක ය.

**අපට ඇළ - දොළ, ගංගා සහ අගනා සම්පත් සපයා දුන්**
**දෙවි පියාණන් වහන්සේට ස්තුති ප්‍රශංසා වේවා!**



යාච්ඤාව

දෙවි පියාණන් වහන්ස, ඔබ වහන්සේ අපට අගනා වස්තු රැසක් සපයා දුන්නාට ස්තුතියි.

ආමෙන්.



පැවරුම

කෙටි පිළිතුරු ලියන්න.

1. ඒදන් උයන ආශ්‍රිත ගංගා **සතර** නම් කරන්න.
2. දෙවිඳුන් අපට ලබා දුන්, ශ්‍රී ලංකා පොළොවෙන් සොයා ගත හැකි මැණික් වර්ග **හතරක්** නම් කරන්න.
3. දෙවිඳුන්ගේ මැවිලි වන රත්රන් හා මැණික් යොදා සාදන ආභරණ **හතරක** නම් ලියා ඊට ගැළපෙන රූප අලවන්න.

# 3 දේව මැවිල්ල විස්මිතයි

දෙවියන් වහන්සේ ලෝකය මවා ඒදන් උයන මැවූ අන්දමත්, ගස්වැල් ඇළදොළ, ගංගා සහ පොළොව යට අගනා වස්තු සම්පත් ලබා දුන් ආකාරයත් ඉහත පාඩම්වල දී අපි උගත්තෙමු.

දෙවියන් වහන්සේ විසින් මවන ලද සුළඟ, වර්ෂාව සමග දේශගුණික රටාවේ අපූර්ව බව මේ පාඩමේ දී සලකා බැලේ. අපේ රටට වර්ෂාව ලැබෙන ප්‍රධාන ආකාරයක් වන්නේ මෝසම් සුළං ය. මෝසම් සුළං මගින් ලැබෙන වර්ෂාව එනම් මෝසම් වැසි අවුරුද්දකට දෙවාරයක් ලැබේ. මේ වැසි ලැබෙන කාල අනුව අපේ රටේ වී වගාව කාල දෙකක දී සිදු කෙරේ. ඒ යල කන්නය සහ මහ කන්නයයි. මේ කාලවල දී ලැබෙන වර්ෂාව හේතුකොට ගෙන වී වපුරනු ලැබේ. එසේ වගාකර වැඩෙන පැළවලින් ලැබෙන අස්වැන්න නිසි කාලයට නෙළනු ලැබේ.



3.1 රූපය - ගොවිතැන් කටයුතු

දෙවි පියාණන් වහන්සේ නිසි කලට ලබා දෙන වැස්ස, සුළං, හිරු එළිය නිසා මිනිසුන්ට වී වගා කර අස්වැන්න ලබා ගෙන තම ආහාර සපයා ගැනීමට හැකියාව ලැබී තිබේ. ඒ බව පහත සඳහන් ගීතිකාවෙන් ද කියැවෙයි.

හී හාලා කෙත්වල ද
ගොඩ ද වපුරයි
ඒ දෙවි බෙලෙන් තෙද
පැළ වෙමින් වැඩෙයි
සීත කල්හි පිනි ද
රස්නේ ද වැඩෙන්ට
එහි හිරු රැස් සුළං ද
වැස්ස ද කලට

සැම හොඳ මේ ලෙව්
සගෙන් වේ අපට
ගී පසසව් ගී පසසව්
සමිඳුන්ට


3.2 රූපය - ඕසෝන් වියන

දෙවියන් වහන්සේ අප ජීවත් වන ලෝකයට එනම් පෘථිවි ගෝලයට ඉහළින් වායුගෝලයක් ද මැවූ සේක. පෘථිවි ගෝලයට වැටෙන දැඩි හිරු රැසින් එය ආවරණය කිරීමට ඕසෝන් ස්තරය කියා වියනක් ද තිබේ. සූර්ය කිරණ සමග නිකුත් වන අහිතකර කිරණවලින් පොළෝ තලය ආරක්ෂා කෙරෙන්නේ මේ ඕසෝන් වියන මගිනි. දැන් මේ ඕසෝන් වියන සිදුරු වෙමින් පැවතීම කනගාටුවට කරුණක් වී ඇත.

දෙවියන් වහන්සේ අපට ලබා දුන් මේ වටිනා ඕසෝන් පටලය මිනිසාගේ අහිතකර ක්‍රියාකාරකම් නිසා විනාශ වෙමින් පවතී.

**ඕසෝන් වියන විනාශවීම නිසා ඇති වන අයහපත් ප්‍රතිඵල**

- මිනිසා විවිධ රෝගවලට ගොදුරුවීම (උදා : සමේ රෝග, ඇස් පෙනීමේ දුර්වලතා)
- ශාක වර්ධනය අඩුවීම නිසා වනාන්තර විනාශවීම
- සාගරයේ ඇති මුහුදු පැළෑටි හා මත්ස්‍යය වර්ධනය අඩුවීම
- වායුගෝලය උණුසුම්වීම
- දේශගුණික රටාව වෙනස්වීම

එම නිසා ඕසෝන් පටලය විනාශවීමට ඉඩ නොදී ආරක්ෂා කර ගැනීම අප සියලු දෙනා සතු යුතුකමකි.

**කෙත්වතු සරු කරන යල සහ මහ කන්න ගැන දෙවි පියාණන්ට ස්තුති වේවා!**



**කටපාඩම් පදය**

ඔබ පොළොව දෙස බලා එයට වැහි වස්වා, එය සරු සාර කරන සේක. අහස් ගඟ දිය දහරින් පිරී ඇත. ඔබ පොළොව මෙසේ පිළියෙල කොට ධාන්‍ය සපයා දෙන සේක.

ගීතාවලිය 65:9



පැවරුම

1. අපේ රටේ වී වගාව සිදු කරන කන්න දෙක නම් කරන්න.
2. ඕසෝන් වියන විනාශවීම නිසා ඇති වන අයහපත් ප්‍රතිඵල **තුනක්** ලියන්න.
3. ඕසෝන් වියන රැකගැනීමට ඔබට කළ හැකි දේවල් **දෙකක්** ලියන්න.

# 4 දේව පොරොන්දුවේ මහිමය




4.1 රූපය - දේදුන්න

**සඳුන් :** සරෝජා... අර බලන්න, ලස්සන දේදුන්නක්!

**සරෝජා :** ඔව්, හරි ම ලස්සන දේදුන්නක්.

**සඳුන් :** බලන්න සරෝජා, දේදුන්නේ ලස්සන පාට ගොඩාක් තියනවා නේද?

**සරෝජා :** ඔව් සඳුන්, රතු පාට, තැඹිලි පාට, කහ පාට, කොළ පාට, නිල් පාට, ඉන්ඩිගෝ පාට, දම් පාට. මේ පාට හත ම දේදුන්නේ තියනවා.

**සඳුන් :** දේදුන්න කියන්නේ දේව පොරොන්දුවේ සංකේතයක් කියලා අපේ අම්මා මට කියලා දුන්නා.

**සරෝජා :** දේව පොරොන්දුවේ සංකේතයක් කියන්නෙ මොකක් ද?

**සඳුන් :** මම ඔයාට කියල දෙන්නම්කෝ. ඔයාට මතක ද අපි තුන වසරේ දී ඉගෙන ගත්තා දැහැමි පුද්ගලයෙකුව සිටි නෝවා ගැන.

**සරෝජා :** ඔව් මට මතකයි. දෙවියන් වහන්සේ නෝවාට කිව්වා නැවක් හදන්න කියලා. නෝවා දෙවියන් වහන්සේට කීකරු වෙලා නැවක් හැදුවා. නැව හදලා දින හතකට පස්සේ ඇති වූ වර්ෂාව නිසා මහා ජල ගැල්මක් ඇතිවුණා. මේ ජලගැල්ම දින හතළිහක් පුරා පැවතුණා. නෝවාත් නෝවාගේ පවුලේ අයත් නැවේ සිටි සතුනුත් පමණයි ජලගැල්මෙන් බේරුණේ.

**සඳුන් :** ඔව් ඔයා හරියට ම හරි. ඒ ජලගැල්මෙන් පස්සෙ දෙවියන් වහන්සේ මිහිපිට ජීවත් වන සැම මනුෂ්‍යයෙකුටත්, සැම සත්වයෙකුටත් පොරොන්දුවක් දුන්නා.

**සරෝජා :** දෙවියන් වහන්සේ අප සමග ඇති කරගත් පොරොන්දුව මොකක් ද?

**සඳුන් :** ආ... ඒ තමයි මින් මතු කවදාවත් ජලගැල්මකින් මිහිපිට ජීවත් වන මනුෂ්‍යයන්වත් සතුන්වත් විනාශ නොකරන බව. ඒ විතරක් නෙවෙයි දෙවියන් වහන්සේ දුන් දේව පොරොන්දුවේ සංකේතය තමයි දේදුන්න. දේදුන්න දකින සැම මොහොතක ම අපට ලබා දුන් දේව පොරොන්දුව උන්වහන්සේ සිහිපත් කරනවා.

**සරෝජා :** ඇයි එහෙනම් නාය යෑම්, ගං වතුර, සුනාමි වගේ ස්වාභාවික ආපදා මගින් මිනිසුන් විනාශ වෙන්නේ?

**සඳුන් :** මිනිසුන් විනාශ වෙනවට දෙවියන් වහන්සේගේ කිසි ම කැමැත්තක් නැහැ. දෙවියන් වහන්සේ මිනිසාට ආදරෙයි. නමුත් මිනිසා ලෝකයේ පවතින ස්වාභාවික සම්පත් ආරක්ෂා නොකිරීම නිසයි ආපදා ඇති වී මිනිසුන් විනාශ වෙන්නේ.

**සරෝජා :** දෙවියන් වහන්සේ අපට ගොඩක් ආදරය කරනවා නේද?

**සඳුන් :** ඔව් සරෝජා. දෙවියන් වහන්සේ අපට ගොඩක් ආදරෙයි. ඒ වගේ ම අපට හැම මොහොතක ම රැකවරණය ලබා දෙනවා.

**සරෝජා :** ඔයාට බොහොම ස්තුතියි සඳුන්. මට මේ විස්තර කිව්වට. අපි තව තවත් උන්වහන්සේට ආදරය කරන්න ඕනේ.

**දෙවි පියාණන් වහන්සේ ලබා දුන් පොරොන්දුවලට විශ්වාසවන්තව සිටීමට පුංචි අපිත් පුරුදු වෙමු.**



ආදරණීය දෙවි පියාණෙනි,
ඔබ වහන්සේ අප ආරක්ෂා කිරීමට පොරොන්දුවක් දී තිබෙන නිසාත් අපට අසීමිතව ආදරය කරන නිසාත් ස්තුතියි.

ආමෙන්.



පැවරුම

1. බ්‍රිස්ටල්බෝඩ් කැබැල්ලක් ගෙන ඊට සරිලන පරිදි ඉහත සඳහන් රූප සටහන ඇඳගන්න.




- දේදුන්නේ වර්ණ හතට අදාළව එය සව් කඩදාසිවලින් ඔබ කැමති ආකාරයට අලවා අලංකාර කරන්න.
- ඔබ අලවා අලංකාර කරගත් දේදුන්න රිබන් පටියකින් ගැට ගසා නිවසේ තමාට පෙනෙන තැනක එල්ලන්න.

2. දේව ආරක්ෂාව ඉල්ලා යැදුමක් ලියන්න.

# 5 දේව රැකවරණය අත්දකිමු

නික්මයාම 13 : 21-22

ඊශ්‍රායෙල් සෙනඟ මිසර දේශයේ වහලුන් ලෙස වසර ගණනාවක් ජීවත් වූහ. ඔවුන්ට මිසරයේ සිටිය දී විවිධ දුක් පීඩාවලට මුහුණ දීමට සිදුවිය. ඒ නිසා ඔවුන් දෙවියන් වහන්සේට යාච්ඤා කළ අතර දෙවියන් වහන්සේ එම යාච්ඤාවලට ඇහුම්කන් දුන් සේක. ඊශ්‍රායෙල් සෙනඟ මිසරයෙන් පිටතට ගෙන ඒම පිණිස දෙවියන් වහන්සේ මෝසෙස් නමැති මනුෂ්‍යයා නායකත්වයට තෝරා ගත් සේක. දෙවියන් වහන්සේ ඊශ්‍රායෙල් සෙනඟ මිසර දේශයෙන් මුදවාගෙන පොරොන්දු දේශය කරා ගෙන ගියේ ය.

එම ගමනේ දී සුවිශේෂී සිදුවීම් රැසකට මුහුණ දීමට ඔවුන්ට සිදු විය. ඊශ්‍රායෙල් සෙනඟට පාළුකරය ඔස්සේ ගමන් කිරීමට ද සිදු විය. එහි දී දෙවියන් වහන්සේ ඔවුන්ට මඟපෙන්වීම ලබා දුන් ආකාර දෙකක් ශුද්ධ බයිබලයේ සඳහන් වේ.

1. වලා ටැඹ



5.1 රූපය - දිවා කාලයේ දී ජනතාවට මග පෙන්වූ වලා ටැඹ

දෙවියන් වහන්සේ දිවා කාලයේ දී ආකාශයේ වලා ටැඹක් තුළින් ඊශ්‍රායෙල් ජනතාවට ගමන් කිරීමට මඟපෙන්වූ සේක.

## 2. ගිනි ටැඹ



5.2 රූපය - රාත්‍රී කාලයේ දී ජනතාවට මග පෙන්වූ ගිනි ටැඹ

එසේ ම දෙවියන් වහන්සේ රාත්‍රී කාලයේ දී ආලෝකය ලබා දෙමින් ඊශ්‍රායෙල් ජනතාවට ගමන් කිරීමට ගිනි ටැඹකින් මඟපෙන්වූ සේක.

දිවා රෑ දෙකේ දී ම වලා ටැඹ හා ගිනි ටැඹ ඊශ්‍රායෙල් ජනතාවට පෙරටුවෙන් ගමන් කරමින් මඟපෙන්වී ය. පොරොන්දු දේශය කරා යන ගමනේ දී දෙවියන් වහන්සේගේ දේව ආදරය, දේව රැකවරණය හා දේව මඟපෙන්වීම අත් දකින්නට ඊශ්‍රායෙල් සෙනඟට හැකි විය.

පුංචි අපිත් හැම විට ම දේව ආදරය, දේව රැකවරණය අත්දකින්නට පුරුදු වෙමු.



**කටපාඩම් පදය**

දවල් කාලයේ දී වලා ටැඹ ද රාත්‍රි කාලයේ දී ගිනි ටැඹ ද සෙනඟ ඉදිරියෙන් පහ නොවී ය.

නික්මයාම 13:22



පැවරුම

(1) පහත සඳහන් ප්‍රහේලිකාව සම්පූර්ණ කරන්න.

| | | | | |
|---|---|---|---|---|
| | | 2 ගි | | |
| 1 දේ | | | | |
| 4 | ලා | | ඹ | |
| ආ | | ඹ | | 3 මෝ |
| | | | | |
| ර | | | | ස් |
| | | | | |

**පහළට**

1. ඊශ්‍රායෙල් ජනතාවට දෙවියන් වහන්සේ නිරතුරුව ලබා දුන් දෙයකි.
2. රාත්‍රි කාලයේ දී ඊශ්‍රායෙල් සෙනඟට මඟ පෙන්වූයේ මෙමගිනි.
3. පොරොන්දු දේශය කරා යන ගමනට නායකත්වය දුන්නේ මොහු ය.

**හරහට**

4. දිවා කාලයේ දී ඊශ්‍රායෙල් ජනතාවට මඟ පෙන්වූයේ මෙමගිනි.

(2) පුංචි ඔබට දේව රැකවරණය ලැබෙන ආකාර දෙකක් ලියන්න.

# 6 දෙවියන් වහන්සේ විසින් පෝෂණය කරන ලද ඒලියා

**1 රාජාවලිය 17 : 1-7**

ඊශ්‍රායෙල් දේශය විවිධ කාලවල දී විවිධ රජවරුන් විසින් පාලනය කරන ලද බව ශුද්ධ බයිබලයේ සඳහන් වෙයි. එම රජවරුන් අතරින් ආහබ්, දෙවියන් වහන්සේ ඉදිරියේ නපුරු දේවල් කළ රජ කෙනෙකි. එසේ ම ආහබ්, රට පාලනය කළ කාලයේ ඊශ්‍රායෙල් දේශයේ සිටි දිවැසිවරයා වූයේ එලියා ය.

ඉදිරි කාලයේ පැමිණෙන්ට තිබෙන නියඟය පිළිබඳව දෙවියන් වහන්සේ එලියාට දේව පණිවිඩයක් මගින් දැනුම් දුන් සේක. එම පණිවිඩය එලියා ආහබ් රජුට දන්වී ය.

දෙවියන් වහන්සේ එලියාට පණිවිඩයක් ලබා දෙමින් "මෙතැනින් පිටත්ව පෙරදිගට ගොස් ජෝර්දාන් ගඟට නැගෙනහිරින් තිබෙන කෙරිත් නම් ඔය ළඟ සැඟවී සිටින්න. එම ඔයෙන් බොන්න පුළුවන. එහි දී නුඹට කෑම දෙන්නට කපුටුවන්ට මම අණ කරමි." යි කී සේක.



6.1 රූපය - කපුටුවන් මගින් එලියාට ආහාර ලබා දීම

දෙවියන් වහන්සේගේ හඬට කීකරු වූ එලියා කෙරිත් නම් ඔය ළඟ සැඟවී සිටියේ ය. දෙවියන් වහන්සේ එලියාට පොරොන්දු වූ ලෙස ම උදය කාලයේ ද සවස් කාලයේ ද කපුටුවෝ රොටි හා මස් එලියාට ආහාර පිණිස ගෙනාවෝ ය. ඔහු එම ආහාර අනුභව කළ අතර පිපාසයට කෙරිත් ඔයෙන් ජලය රැගෙන බීවේ ය.

දෙවියන් වහන්සේ එලියාට බොහෝ සේ ආදරය කළ සේක. උන්වහන්සේ කපුටුවන් මගින් පවා එලියා පෝෂණය කළ සේක. එම අවස්ථාවේ දී එලියා දේව සංරක්ෂණය නිරතුරු ලැබුවේ ය.

**ඔබත්**

- එලියා මෙන් දෙවියන් වහන්සේට ආදරය කරන්න.
- එලියා මෙන් දෙවියන් වහන්සේ තුළින් පෝෂණය ලබන්න.
- එලියා මෙන් ඔබේ ජීවිතය තුළ දේව ක්‍රියාකාරීත්වය හා දේව සංරක්ෂණය නිරතුරු අත්දකින්න.

**මම දෙවියන් වහන්සේට ආදරය කරමි; දෙවියන් වහන්සේ තුළින් නිරතුරුව පෝෂණය ලබමි.**



## කටපාඩම් පදය

"නුඹට කෑම දෙන්නට කපුටුවන්ට මම අණ කළෙමි"

1 රාජාවලිය 17:4



### පැවරුම

1. මෙහි සඳහන් වන පරිදි, දෙවියන් වහන්සේ ඉදිරියේ නපුරු දේවල් කළ රජතුමා කවුද?
2. දෙවියන් වහන්සේගේ හඬට කීකරු වූ දිවැසිවරයා කවුද?
3. එලියා ගොස් සැඟවුණේ කොහේ ද?
4. එලියාට කෑම ගෙනාවේ කවුරුන් ද?
5. එලියා විසින් ආහාරයට ගන්නා ලද කෑම මොනවා ද?
6. කිතුනු ඔබට එකිනෙකා වෙනුවෙන් කළ හැකි උපකාර දෙකක් ලියන්න.

# 7 දේව වැඩ විසීම අත්දුටු පේදුරු තුමා

ශු. මතෙව් 14 : 22-33

ජේසු පිහිටයි!

ආදරණීය දරුවනේ,

මේ ලිපිය කියවන ඔයාලා හැමෝට ම ජේසු පිහිටයි! මම ජේසුස් වහන්සේගේ ගෝලයා, පේදුරු. ජේසුස් වහන්සේට මම හරි ම ආදරෙයි. මම මේ කියන්න හදන්නේ මගේ ජීවිතය තුළ මුහුණ දුන් පුදුම සහගත අත්දැකීමක් ගැනයි.

දිනක් ජේසුස් වහන්සේ, තමන් වහන්සේට පෙර ඔරුවට නැඟී එගොඩට යන්න කියා අපට පැවසුවා. ඉන් පසු ජේසුස් වහන්සේ යාච්ඤා කිරීමට අපගෙන් වෙන් වී කන්දකට ගියා. ඒ කියපු ලෙසට ම අපි උන්වහන්සේට කීකරු වෙලා ඔරුවට නැඟලා එගොඩට ගමන් කරමින් සිටියා. එගොඩට යමින් තිබුණු ඔරුව මුහුද මැද දී සැඩ සුළංවලට හසු වී මුහුදු රැලිවල හැපෙමින් ඒ මේ අතට හැරෙමින් තිබුණා. අපි හුඟාක් බයවුණා. කුමක් කරන්න ද කියලා අපට තේරුණේ නැහැ.

ඉන් පසු අපි දක්කේ පුදුම සහගත දෙයක්. ඒ තමයි කවුදෝ කෙනෙක් මුහුද මත ඇවිදගෙන අප ළඟට එනවා. හැබැයි ඒ එන්නේ ජේසුස් වහන්සේ කියලා අපි මුලින් අඳුනා ගත්තේ නැහැ. අපි බයෙන් කෑ මොර දෙන්නට පටන් ගත්තා. නමුත් ජේසුස් වහන්සේ ඒ වෙලාවේ දී "ධෛර්යවත් වන්නः මේ මම ය; බිය නොවන්න," යැයි පැවසුවා.



7.1 රූපය - ජේසුස් වහන්සේ මුහුද මත ඇවිදීම

ජේසුස් වහන්සේගේ වචනය තුළ ධෛර්යවත් වූ මටත් ඕන වුණා මුහුද මත පයින් ගමන් කරමින් ජේසුස් වහන්සේ ළඟට යන්න. "ස්වාමීනි, ඔය ඔබ වහන්සේ නම් වතුර මත ඔබ වෙත එන්න මට අණ කළ මැනැව"යි කියා මම ජේසුස් වහන්සේට කිවුවා. එවිට උන්වහන්සේ, 'එන්න!' යැයි මට පැවසුවා.

මම ඔරුවෙන් බැහැලා ජේසුස් වහන්සේ වෙතට වතුර මත ඇවිදගෙන යන්න පටන් ගත්තා. ඒක නම් පුදුම අත්දැකීමක්! මම ජේසුස් වහන්සේ දිහා බලාගෙන ටික දුරක් ගමන් කළා. ඒත් පසුව මුහුදේ රැලි එන්න එන්න ම වේගවත් වූ නිසා මම බය වුණා. ඒ විතරක් නෙවෙයි මා ගිලෙන්නට පටන් ගත්තා.


7.2 රූපය - ජේසුස් වහන්සේ විසින් ගිලෙන්නට යන පේදුරු බේරා ගැනීම

"ජේසුස් වහන්ස, මා බේරා ගන්න!" කියලා මා කෑගැසුවා. ජේසුස් වහන්සේ මගේ අත ඒ වෙලාවේ ම අල්ලගෙන "ඔබේ ඇදහිල්ල කෙතරම් හීන ද? සැක කළේ මන්ද?" යැයි මාගෙන් විමසුවා.

ජේසුස් වහන්සේ මට ගිලෙන්න නොදී ගලවා ගෙන මාත් සමග ඔරුවට පැමිණියා. ඉන් පසු තදින් හැමූ සුළඟ ද නැවතුණා. මේ සිද්ධිය කවදාවත් මට අමතක වෙන්නේ නැහැ.

ඒ දිනයේ දී ජේසුස් වහන්සේ මුහුද මත පයින් ගමන් කිරීමෙන් සහ මා ගිලෙන්නට නොදී ගලවා ගැනීමෙන් උන්වහන්සේගේ පුදුම සහගත දේව වැඩ සිටීම මම අත්දැක්කා. ඉතින් පුංචි දුවේ පුතේ, ඔබ මුහුණ දෙන ගැටලුවල දී ඔබත් ධෛර්යවත් වෙන්න.

ජේසුස් වහන්සේ තුළ ඇදහිල්ලෙන් ගමන් කරන්න. හැම කරදරයක දී ම ජේසුස් වහන්සේට කතා කරන්න. උන්වහන්සේ අප ළඟට ම ඇවිත් අපට උත්තර දෙනවා. ඔබ සැමට ජේසු පිහිටයි!

මම ආදරණීය,
පේදුරු තුමා.

**පුංචි මමත් ඇදහිල්ලෙන් ජීවත් වන්නට පුරුදු වෙමි.**



යාච්ඤාව

ආදරණීය දෙවියන් වහන්ස,
පුංචි මමත් ඔබ වහන්සේට ආදරෙයි. ඔබ වහන්සේ මා ධෛර්යවත් කළ මැනව; ඇදහිල්ලෙන් ගමන් කිරීමට උපකාර කළ මැනව. ඔබ වහන්සේගේ දේව වැඩවිසීම අත්දකින්නට මට පිහිට වුව මැනව.

ආමෙන්.



පැවරුම

1. පහත සඳහන් වාක්‍ය කොටස් ලිපියෙන් සොයා සම්පූර්ණ කරන්න.

    1.. ධෛර්යවත් වන්න; ______________________

    2. ස්වාමීනි, ඔය ඔබ වහන්සේ නම් ______________

    3. ඔබේ ඇදහිල්ල කෙතරම් හීන ද? _______________

2. පුංචි ඔබේ ඇදහිල්ල වර්ධනය කර ගැනීමට ගත හැකි පියවර දෙකක් ලියන්න.

# 8 සොයුරියන් දෙදෙනකුට සහනය

**ශු. ජොහාන් 11 : 28-45**

ජේසුස් වහන්සේගේ කාලයේ බෙතානිය නම් ගමක් තිබුණි. මේ ගමේ ජේසුස් වහන්සේට බොහෝ සේ ආදරය කළ ලාසරස් නම් මනුෂ්‍යයෙක් ජීවත් විය. ලාසරස්ට, මාර්තා හා මරියා යනුවෙන් සහෝදරියෝ දෙදෙනෙක් ද සිටියෝ ය. දිනක් ලාසරස් තද බල ලෙස අසනීප වී මරණයට පත් විය. මේ නිසා ඔහුගේ සොහොයුරියන් වූ මාර්තා ද මරියා ද බොහෝ සේ දුකට පත් වූහ. ඒ බව ජේසුස් වහන්සේට ද දන්වා යවන ලදි. ජේසුස් වහන්සේ බෙතානියට පැමිණෙන විට ලාසරස් මැරී සොහොන් ගේ තුළ තැන්පත් කර දින හතරක් ගතව තිබිණි.

ජේසුස් වහන්සේ බෙතානියට පැමිණි බව දැනගත් මාර්තා...




මරියා නැගිට ජේසුස් වහන්සේ අසලට පැමිණ හඬා වැටී...



ජේසුස් වහන්සේ මරියා ද ඈ සමග පැමිණි ජුදෙව්වරු ද හඬනු දැක සිතින් සුසුම්ලා...







උන්වහන්සේ ලාසරස් තැන්පත් කළ සොහොන් ගේ ළඟට පැමිණ...

එතැන සිටි පිරිස ගල ඉවත් කළහ... ජේසුස් වහන්සේ යාච්ඤා කොට මහත් හඬින්,






## ලාසරස් ජීවිතය ලබා පිටතට පැමිණේ.




එදා මාර්තා හා මරියා ජේසුස් වහන්සේ බොහෝ විශ්වාස කළෝ ය. තම සහෝදර ලාසරස් මරණින් නැඟිටවීම තුළ මාර්තා සහ මරියා ජේසුස් වහන්සේගේ පුදුම සහගත දේව ප්‍රේමය අත් දුටුවෝ ය. ජේසුස් වහන්සේ මාර්තාට සහ මරියාට සහනය ලබා දුන් සේක. ජුදෙව්වරු බොහෝ දෙනෙක් ජේසුස් වහන්සේ කළ දේ දැක උන්වහන්සේ අදහා ගත්හ.

**පුංචි ඔබත් ජේසුස් වහන්සේට ආදරය කරන්න!**
**පුදුම සහගත දේව ප්‍රේමය හා සහනය අත්දකින්න!**

### කටපාඩම් පදය

පියාණෙනි, ඔබ මට සවන් දුන් සේක. මම ඔබට ස්තුති කරමි.

ශු. ජොහාන් 11:41

### පැවරුම්

පහත දී ඇති වාක්‍ය හරි නම් "✓" ලකුණ ද වැරදි "X"නම් ලකුණ ද ඉදිරියේ ඇති කොටුව තුළ යොදන්න.

1. ලාසරස් ජීවත් වූ ගම බෙතානියයි. ☐
2. ලාසරස් ජේසුස් වහන්සේට ආදරය කළේ නැත. ☐
3. ලාසරස්ට මාර්තා හා මරියා යනුවෙන් සහෝදරියෝ දෙදෙනෙක් සිටියෝ ය. ☐
4. ලාසරස් මියගොස් දින හතරකට පසු ජේසුස් වහන්සේ ඔහු මරණින් නැඟිටවූ සේක. ☐
5. ජේසුස් වහන්සේ ලාසරස්ට ආදරය කළ සේක. ☐

# 9 දෙවිඳු පසසමු - දෙවිඳු නමදිමු

දෙවියන් වහන්සේගේ ප්‍රේමය කියා නිම කළ නොහැකි තරම් විශාල ය; ගැඹුරු ය. උන්වහන්සේ අපට දක්වන දේව ප්‍රේමයට අප ප්‍රතිචාර දැක්විය යුතුයි. ඒ කිතුනු ගුණාංග අනුව ජීවත් වීමට අපි නිතර උන්වහන්සේ සමග සමීප සම්බන්ධතාවක් පවත්වා ගත යුතු වෙමු.



9.1 රූපය - යාච්ඤාවේ නිරත වන ළමයින්



9.2 රූපය - ජේසුස් වහන්සේ කඳු මුදුනේ යාච්ඤා කිරීම

ජේසුස් වහන්සේ මේ ලෝකයේ ජීවත් වූ කාලයේ දෙවි පියාණන් වහන්සේ සමග නොකඩවා තම සම්බන්ධතාව පවත්වා ගැනීමට දිනපතා යාච්ඤා කළ සේක. නිවසේ දී, මුහුදු වෙරළේ දී කඳු මුදුනේ දී ජේසුස් වහන්සේ යාච්ඤා කළ බව ශුද්ධ බයිබලයේ සඳහන් වේ.

උන්වහන්සේ අපට දිනපතා ලබා දෙන ආරක්ෂාව, විවේකය සහ සියලු ආශීර්වාදවලට අපි ස්තුතිවන්ත වෙමු. යාච්ඤා කරමින් එයට ප්‍රතිචාර දක්වමු.

එලෙස ම ජේසුස් වහන්සේ තම සේවය ආරම්භ කිරීමට පෙර, දින හතළිහක් පාළුකරයේ යාච්ඤාවෙන් නිශ්චල කාලයක් ගත කළ බව

ශුද්ධ බයිබලයේ සඳහන් වේ. අපේ ජීවිතවල සියලු ම වැදගත් අවස්ථාවල දී ද වැදගත් තීරණ ගැනීමේ දී ද උන්වහන්සේගේ මඟපෙන්වීම ලබා ගැනීම අවශ්‍ය වේ. ඒ සඳහා නිරතුරු යාච්ඤා කිරීම සහ ශුද්ධ බයිබලය කියවා, ඒ ගැන මෙනෙහි කිරීම, භාවනාවට යොමුවීම වැදගත් වේ. ඒ තුළින් උන්වහන්සේ අපට නිවැරදි මාර්ගය පෙන්වා දෙන සේක.

දෙවියන් වහන්සේට අප ප්‍රශංසා කරන විට උන්වහන්සේ සතුටු වන සේක. දෙවියන් වහන්සේ අපට ලබා දෙන සියලු ආශීර්වාද ගැන අපි උන්වහන්සේට ප්‍රශංසා කළ යුතු වෙමු.



9.3 රූපය - විවිධ හැකියා මගින් දෙවිඳුන්ට ප්‍රශංසා කිරීම

ගීතිකා ගායනා කිරීමෙන් අපට දෙවියන් වහන්සේට ප්‍රශංසා කළ හැකි ය. එමෙන් ම, ඒ සමග වාදනයෙන් ද අපට උන්වහන්සේට ප්‍රශංසා කළ හැකි ය; උන්වහන්සේගේ ප්‍රේමයට ප්‍රතිචාර දැක්විය හැකි ය.

දාවිත් රජතුමා නටමින් දෙවියන් වහන්සේට ප්‍රශංසා කළ අන්දම ශුද්ධ බයිබලයේ සඳහන් වේ. අපටත් රංගනයෙන් දෙවියන් වහන්සේ පැසසීමට හැකි ය. මුවින් වචන ප්‍රකාශ කරමින් පමණක් නොව අභිරූපණයෙන් ද දෙවියන් වහන්සේට ප්‍රශංසා කළ හැකි ය.

දක්ෂ චිත්‍ර ශිල්පීහු සහ කැටයම් ශිල්පීහු තම ප්‍රශංසාව දෙවියන් වහන්සේට පිළිගැන්වීමට නොයෙක් ආකාරයේ අලංකාර නිර්මාණ කරති. සමහර දේවස්ථානවල බිත්තිවල ඇඳ ඇති සිතුවම්, අඹා ඇති රූප සහ කැටයම් ආදිය මගින් ඔවුන්ගේ ප්‍රශංසාව දෙවියන් වහන්සේට පුද කරති.

ශ්‍රවණාබාධ, කථනාබාධ හා දෘශ්‍යාබාධ ඇති අය ද අප අතර සිටිති. ඔවුන්ට ද දෙවියන් වහන්සේ පැසසීමට රංගනය සහ අභිරූපණය හෝ ඔවුන්ට ම ආවේණික ක්‍රම හෝ යොදා ගත හැකි ය. එමගින් ඔවුන්ට ද දෙවියන් වහන්සේ දක්වා ඇති ආදරය වෙනුවෙන් ප්‍රතිචාර දැක්වීමට බාධාවක් නොවනු ඇත. (උද : දෘශ්‍යාබාධ ඇති පිරිස් බ්‍රේල් ක්‍රමය භාවිත කරමින් දෙවිඳුන් පැසසීම, කථනාබාධ ඇති අය, ඒ අය වෙනුවෙන් ම වෙන් වූ දේවස්ථාන නමස්කාර පිළිවෙත්වලට සහභාගී වීම)

**මාගේ දෑත්, දෙපා, මුඛය සහ දෙ ඇස් යොදා ගෙන මම දේව ප්‍රේමයට ප්‍රතිචාර දක්වමි.**



**කටපාඩම් පදය**

ගීතාවලිය 150:4

රඟපාමින් හා කිකිණි රබානෙන්
එතුමන් පසසන්න
වීණාවෙන් හා නළාවෙන්
එතුමන් පසසන්න



**පැවරුම**

1. කොලාජයක්, චිත්‍රයක්, මූර්තියක්, ගීතිකාවක් හෝ රංගනයක් මගින් ඔබට දෙවියන් වහන්සේට ප්‍රශංසා කළ හැකි නිර්මාණයක් පන්තියේ අන් සිසුන් ඉදිරියේ ප්‍රදර්ශනය කරන්න.

# 10 ප්‍රේරිතයෝ දොළොස් දෙනා

ශු. මාක් 3 : 13-19

ජේසුස් වහන්සේ තම සේවය සඳහා තමන් සමග සිටිනු පිණිසත් සුබ අස්න දේශනා කිරීමට යවනු පිණිසත් විශේෂ ආකාරයෙන් දොළොස් දෙනෙකු පත් කළ සේක. ඔවුන්ට ප්‍රේරිතයන් යැයි නම් තැබූ සේක; ඔවුන්ට දුෂ්ටාත්ම දුරු කිරීමේ බලය ද පැවරූ සේක. අපි ඒ ප්‍රේරිතයන් දොළොස් දෙනා හඳුනා ගනිමු.

මම සීමොන්. ජේසුස් වහන්සේ මා හැඳින්වූයේ පේදුරු කියලා.

අපි දෙදෙනා සහෝදරයෝ. අපේ පියා සෙබදි. ජේසුස් වහන්සේ අප බෝවනර්ගස් ලෙස හැඳින්වූවා. එහි තේරුම ගර්ජනාවේ පුත්‍රයෝ.

මම ජාකොබ්

මම ජොහන්







මම ඇන්ඩaa



මගේ නම පිලිප්



මම බර්තොලමෙව්



මම මතෙව්



මගේ නම තෝමස්



මම ජාකොබ්. මාව
කවුරුත් හඳුන්වන්නේ
අල්පෙවුස්ගේ පුත්
ජාකොබ් කියලා



මගේ නම
තද්දෙවුස්

මගේ නමත් සීමොන්.
මාව අන්ත ජාතිවාදී
සීමොන් ලෙස තමයි
හැමෝ ම හඳුන්වන්නේ.

මම ජූදස්
ඉස්කාරියෝත්







ගීතය
පේදුරු ඇන්ඩෘ ජාකොබ් ජොහන් පිලිප්
බර්තොලමෙව් මතෙව් තෝමස්
අල්පෙවුස්ගේ පුත් ජාකොබ් සීමොන්
තද්දෙවුස් සහ ජූදස් ඉස්කාරියොත්
මාර්ක්තුමා සිය සුබ හසුනේ මේ ලෙසින් හඳුන්වා දුන්නේ
ජේසුතුමාගේ ගෝලයන් දොළොස් දෙනාවයි
ගෝලයන් දොළොස් දෙනාවයි

**ජේසුස් වහන්සේගේ ගෝලයන් මෙන් මම ද ඒ මඟ යමි.**



## යාච්ඤාව

ආදර ජේසුස් වහන්ස, ඔබ වහන්සේ ප්‍රේරිතයන් දොළොස් දෙනෙකු තෝරාගත් සේක. ඔවුන් තුළින් ලෝකයේ විවිධ දිශාවන්ට ශුභාරංචිය ප්‍රචාරය කිරීම ගැන ඔබ වහන්සේට ස්තුතියි. මමත් ඔබ වහන්සේගේ ගෝලයකු වන්නට කැමැත්තෙමි.

ආමෙන්.



## පැවරුම

1. ජේසුස් වහන්සේ විසින් තෝරා ගනු ලැබූ ප්‍රේරිතයන් ගණන කීයද ?
2. ජේසුස් වහන්සේ පේදුරු නමින් හැඳින්වූ ප්‍රේරිතයාගේ මුල් නම කුමක් ද?
3. අල්පෙවුස්ගේ පුත්‍රයා වූ ප්‍රේරිතයා නම් කරන්න.
4. සෙබදිගේ පුත්‍රයෝ කවරහු ද?

# 11 ශ්‍රාවක පිරිසට එක් වූ කාන්තාවෝ




11.1 රූපය - ජේසුස් වහන්සේගේ ශ්‍රාවක කාන්තාවෝ

ජේසුස් වහන්සේ මේ ලෝකයේ සිටි කාලයේ සෙනගට දේශනා කළ සේක; විවිධාකාර ලෙඩ රෝගවලින් පෙළුණු අය සුව කළ සේක; එපමණක් නොව ශුභාරංචිය ප්‍රකාශ කරමින් නගරවල සහ ගම්වල සැරිසැරූ සේක. උන්වහන්සේ සමග ප්‍රේරිතයන් දොළොස් දෙනා ද නිතර ම ගමන් ගත්හ. උන්වහන්සේ සමග ගමන් ගත් ශ්‍රාවක පිරිස අතර කාන්තාවෝ ද සිටියහ.

ජේසුස් වහන්සේ සමග සිටි ශ්‍රාවක කාන්තාවෝ උන්වහන්සේගේ සේවයට උදවු කළෝ ය. උන්වහන්සේ කුරුසිපත්වීමට නියමිත අවස්ථාවේ දී ඔවුහු ජේසුස් වහන්සේ ළඟ සිටියහ. ජේසුස් වහන්සේ උත්ථාන වූ පසු මුලින් ම ප්‍රකාශ වූයේ මරියා ඇතුළු කාන්තා පිරිසට ය. උන්වහන්සේ මළවුන්ගෙන් උත්ථාන වීමෙන් පසු, පළමුවෙන් සාක්ෂි දැරීමටත්, ඒ පුවත අන්‍යයන් වෙත ගෙන යෑමටත් කාන්තාවන් තෝරා ගත් සේක.

දුෂ්ටාත්ම හත්දෙනෙකු වැසී සිටි මග්දලේනා නම් ලත් මරියා නම් කාන්තාවක් වූවා ය. ජේසුස් වහන්සේ ඇය සුව කළ සේක. ඈ සුවය ලැබූ පසු ජේසුස් වහන්සේගේ ශ්‍රාවක කාන්තාවන් අතරට එක් වූවා ය.

හෙරොද් රජතුමාගේ භාණ්ඩාගාරිකගේ නම කුසා ය. කුසාගේ භාර්යාව ජෝවන්නා නම් කාන්තාවකි. ජෝවන්නා ද ජේසුස් වහන්සේගේ ශ්‍රාවක කාන්තාවන් අතර සිටි තවත් කෙනෙකි.

ජේසුස් වහන්සේගේ ශ්‍රාවක කාන්තාවන් අතර සුසානා නම් වූ තවත් කාන්තාවක් ද වූවා ය.

මේ සියලු කාන්තාවෝ උන්වහන්සේ පසු පස යමින් උන්වහන්සේගේ සේවාවන්ට සහාය වූහ; එපමණක් නොව සිය සම්පතින් උන්වහන්සේට උපස්ථාන කළෝ ය. මේ අනුව ඔවුන් උන්වහන්සේගේ ශ්‍රාවිකාවන් සේ කටයුතු කළ බව පෙනී යයි.

**ජේසුස් වහන්සේ පසුපස ගමන් කරන උන්වහන්සේගේ සේවාවන්ට සහාය වන මම ද ශ්‍රාවකයෙක් වෙමි.**



**කටපාඩම් පදය**

ශු. ලූක් 8:3

හෙරොද්ගේ භාණ්ඩාගාරික වන කුසාගේ භාර්යාව වන ජෝවන්නා ද සුසානා ද සිය සම්පතින් උන්වහන්සේට උපස්ථාන කළ තවත් බොහෝ ස්ත්‍රීහු ද සිටියහ.



පැවරුම

1. පාඩමේ සඳහන් වූ ජේසුස් වහන්සේගේ අනුගාමික කාන්තාවන් නම් කරන්න.
2. ඔවුන් කළ සේවා මොනවා ද?
3. වත්මන් කිතුනු සභා තුළ දේව සේවයේ යෙදෙන කාන්තාවන් ඉටු කරන සේවා දෙකක් ලියන්න.

# 12 දෙවි වදන් අසමු

ශු. ලූක් 10 : 38-42




කෝ මේ මරියා? මේ දේවල් ගැන බලන්න මේ පැත්තට වත් ආවේ නෑ. හැම දේ ම මම කරන කල් බලාගෙන ඇති.
ස්වාමීනි, මගේ සහෝදරිය පැත්තකට වී සත්කාර කටයුතු මා පිට ම පවරා සිටින හැටි ඔබ සලකන්නේ නැද්ද?
මට උදවු කරන්නට කියා ඇයට කියන්න.
මාර්තා... මාර්තා... ඔබ බොහෝ දේ ගැන කරදර වෙමින් නලංගු වන්නෙහි ය.
එහෙත් අවශ්‍ය එක් දෙයකි. මරියා යහපත් දෙය තෝරා ගෙන ඇත.

මරියා ජේසුස් වහන්සේගේ පාද පාමුල, උන්වහන්සේගේ වචනවලට සවන් දෙමින් සිටි බවත්, මාර්තා ගෙදර දොරේ කෑම සාදමින්, උපස්ථාන කටයුතුවල යෙදී සිටි අන්දමත් මින් පැහැදිලි වේ. වඩා වැදගත් වන්නේ දේව වචනයට සවන්දීම බව ජේසුස් වහන්සේ පෙන්වා දුන් සේක. මාර්තා එදා සත්කාර කටයුතු කිරීමට වෙහෙස වූවා ය. ජේසුස් වහන්සේගේ වචන අසන්නට ඇයට කාලයක් නොතිබුණි. වඩා යහපත් දේ කුමක් දැයි උන්වහන්සේ ඇයට පෙන්වා දුන් සේක.

ජේසුස් වහන්සේගේ වදන්වලට සවන් දීමේ වැදගත්කම දක්වෙන මේ ගීතිකාව අපි එක්ව ගායනා කරමු.

ජේසුස්නි ඔබ ළඟට
විත් ඔබ බස සොඳ
අසන්ට ලැබෙන පැය
කෙතරම් මිහිරි ද

**මම දේව වචනයට සවන්දීමට ආසා කරමි. දේව වචනය කියවීමට ප්‍රිය කරමි.**



**යාච්ඤාව**

ආදරණීය දෙවි පියාණෙනි,

ඔබ වහන්සේගේ වචනය ගැන අපි ස්තුති කරමු. ශුද්ධ බයිබලය දිනපතා කියවමින් ඒ තුළින් දේව මඟපෙන්වීම ලබා ගැනීමට ආශාවත්, ඕනෑකමත් අප හදවත් තුළ ඇති කළ මැනව.

ආමෙන්.



**පැවරුම**

1. ජේසුස් වහන්සේ පැවසූ පරිදි මරියා තෝරාගත් යහපත් ක්‍රියාව කුමක් ද?
2. එම යහපත් ක්‍රියාව ඔබගේ ජීවිතයේ ක්‍රියාවට නංවන අවස්ථාවක් ලියන්න.

# 13 අප සැම මිතුරන් - මට නැහැ සතුරන්

**ශු. ලූක් 6 : 27-36**






සෙල්ලම් කරන අතර එක ළමයෙක් ක්ලාන්ත වී වැටේ. ක්‍රීඩාවට නොගත් ළමයා පැමිණ ඔවුන්ට පිහිටවීමට ඉදිරිපත් වේ.






ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අපි තව දුරටත් තේරුම් ගෙන එය ක්‍රියාවට නඟමු.

- ඔබේ සතුරන්ට
  ප්‍රේම කරන්න.
- ඔබට වෛර කරන්නන්ට
  යහපත කරන්න.
- ඔබට සාප කරන්නන්ට
  සෙත් පතන්න.
- ඔබට ගැරහුම් කරන්නන් උදෙසා
  යාච්ඤා කරන්න.
- ඔබේ එක කම්මුලකට අතුල් පහර දෙන අයට
  අනෙක් කම්මුල ද පාන්න.
- ඔබේ උතුරු සළුව පැහැර ගන්නාගෙන්
  ඔබේ අඳනය වුව ද වළක්වා නොගන්න.
- ඔබෙන් ඉල්ලන හැමට ම
  දෙන්න.
- ඔබ සතු දෙය පැහැර ගන්නාගෙන්
  යළිත් එය නොඉල්ලන්න.
- අනුන් ඔබට යමක් කරනවාට ඔබ කැමැත්තෙහි ද
  ඔබත් ඔවුනට ඒ දේ ම කරන්න.

තමන්ට සතුරුකම් කරන්නන් කෙරෙහි ප්‍රේමය වඩන අන්දම ජේසුස් වහන්සේ උගන්වා ඇත්තේ ඉහතින් දැක්වූ ආකාරයට ය. මෙම ඉගැන්වීම් ඇසූ විගස එක වර ම මෙය ක්‍රියාවට නැංවීම අසීරු කාර්යයක් ලෙස හැඟී යා හැකි ය. එහෙත් ටිකෙන් ටික මේ ඉගැන්වීම් ක්‍රියාවට නැංවීමට අපි ඉටා ගනිමු. එවිට ජේසුස් වහන්සේ අපට, වඩා හොඳින් ප්‍රේම කරමින් උදවු කරනු ඇත. එසේ කරන විට අපේ හදවත්වලට පුදුමාකාර ප්‍රීතියක් දැනෙනු ඇත. අපේ හදවත් සාමයෙන් පිරෙනු ඇත. ජේසුස් වහන්සේ තව දුරටත් අපට ආශීර්වාද කරමින් දෙවියන් වහන්සේගේ දරුකමට අප පත් කරගනු ඇත.

## මට සතුරුකම් කරන්නන්ට මම ප්‍රේම කරමි.



**කටපාඩම් පදය**

ඔබේ පියාණන් වහන්සේ දයානුකම්පා ඇතිව සිටින්නාක් මෙන් ම ඔබ ද දයානුකම්පා ඇතිව සිටින්න. (ලූක් 6:36)



**පැවරුම**

"අ" කොටසට ගැළපෙන වාක්‍ය කොටස "ආ" කොටසින් තෝරා යා කරන්න.

| "අ" | "ආ" |
|---|---|
| ★ වෛර කරන්නන්ට | ★ ඔබත් ඔවුන්ට ඒ දේ ම කරන්න |
| ★ ගැරහුම් කරනන් උදෙසා | ★ දෙන්න |
| ★ උතුරු සළුව පැහැර ගන්නාගෙන් | ★ යළිත් එය නොඉල්ලන්න |
| ★ ඔබ සතු දේ පැහැර ගන්නාගෙන් | ★ අනෙක් කම්මුල ද පාන්න |
| ★ අනුන් ඔබට යමක් කරනවාට කැමැත්තෙහි ද | ★ යහපත කරන්න |
| | ★ සෙත් පතන්න |
| ★ ඉල්ලන හැමට ම | ★ යාච්ඤා කරන්න |
| ★ සාප කරන්නන්ට | ★ අඳනය වුව ද වළක්වා නොගන්න |
| ★ ඔබේ එක කම්මුලකට අතුල් පහර දෙන අයට | |

# 14 පේදුරුගේ නැන්දණිය සුවය ලබයි

ශු. ලූක් 4 : 38-39

| ශු. ලූක් 4:38 | ශු. ලූක් 4:39 |
|---|---|
| උන්වහන්සේ ධර්මශාලාවෙන් නැගිට ගොස් සීමොන්ගේ ගෙදරට ඇතුළු වූ සේක.<br><br>සීමොන්ගේ බිරිඳගේ මවට බලවත් උණ රෝගයක් වැළඳී තිබිණි.<br><br>ඔවුහු ඈ උදෙසා උන්වහන්සේට කන්නලවු කළහ. | උන්වහන්සේ ඈ ළඟ සිට උණ රෝගයට පහව යන්නැ යි අණ කළ සේක. උණ රෝගය ඇගෙන් පහව ගියේ ය.<br><br>එකෙණෙහි ම ඈ නැගිට ඔවුන්ට උපස්ථාන කළා ය. |

**පියතුමා :** ජේසු පිහිටයි! දරුවනේ, සබත් පාසල් දරුවන්ගේ තලෙන්ත දක්ම සඳහා ඉදිරිපත් කරන නාට්‍යය සඳහා සියල්ල සූදානම් කියලා මා හිතනවා. එහෙම නේද?

**දෙව්නි :** ජේසු පිහිටයි! පියතුමා, ඔව්.... අපි සියල්ල සූදානම් කරලා ඉවරයි. අපි රඟ දක්වන්න යන්නේ ජේසුස් වහන්සේ පේදුරුගේ නැන්දණියට සුවය ලබා දුන් අවස්ථාවයි.

**පියතුමා :** හොඳයි දරුවනේ... එහෙනම් අපි බලමුකෝ පුංචි හපනුන්ගේ දස්කම්.

(ජේසුස් වහන්සේ ධර්ම ශාලාවේ උගන්වමින් සිටිති. පේදුරු තුමා කලබලයෙන් මෙන් ජේසුස් වහන්සේ වෙතට පැමිණ....)

| | | |
|---|---|---|
| පේදුරු තුමා | : | ජේසුස් වහන්ස, මගේ බිරිඳගේ මවට උණ හැදිලා. ගොඩාක් අසනීපයෙන් ඉන්නේ. ඇය සුව කරලා දෙන්න. |
| ජේසුස් වහන්සේ | : | හොඳයි පේදුරු, මම ඇය වෙනුවෙන් යාච්ඤා කරන්න ඔබේ නිවසට එන්නම්. |
| | | (ජේසුස් වහන්සේ ධර්මශාලාවෙන් පිටත්ව පේදුරුගේ නිවසට ඇතුළු වෙති) |
| පේදුරුගේ නැන්දම්මා | : | ම්.... ම්.... මාව හොඳට ම ගැහෙනවා. අනේ මට හොඳට ම උණ! අනේ ජේසුස් වහන්සේ නේද මේ ඇවිත් ඉන්නේ? |
| | | (ජේසුස් වහන්සේ පේදුරුගේ නැන්දම්මා දෙස බලා... ඇයට අත තබා යාච්ඤා කරයි. ඇය සුවය ලබයි.) |


14.1 රූපය - පේදුරුගේ නැන්දම්මාට සුවය දානය කිරීම

(එවේලෙහි ම සුවය ලැබූ ඇය කතා කරමින්)

**පේදුරුගේ නැන්දණිය :** අනේ... මගේ උණ රෝගය දැන් හොඳට ම හොඳයි. මට පුදුම සහනයක් තියෙන්නේ. (ජේසුස් වහන්සේ දෙස බලමින්) මාව සුව කළ නිසා ඔබ වහන්සේට ගොඩාක් ස්තූතියි. ඉන්න... මම ඔබ වහන්සේට කෑමට මොනව හරි පිළියෙල කරගෙන එන්නම්.

**පේදුරු :** ජේසුස් වහන්ස, ඔබ වහන්සේට ගොඩක් ස්තූතියි.

(රංගනයට සහභාගි වූ සියල්ලෝ ම වේදිකාව ඉදිරියට පැමිණ ආචාර කරති)

**පියතුමා :** (පියතුමා අත්පොළසන් දෙමින්) බොහොම අගෙයි දරුවනේ... ඔයගොල්ලො හැමෝ ම හොඳින් පුහුණු වෙලා රංගනය ලස්සනට ඉදිරිපත් කළා.

**කවීෂ :** බොහොම ස්තූතියි පියතුමනි.

**පියතුමා :** දරුවනේ, මට ඔයාලගෙ රංගනය දැක්කම එදා ජේසුස් වහන්සේ සුවය දුන් අවස්ථාව මැවී පෙනුණා. උන්වහන්සේ බොහෝ රෝගීන් සුව කළ බව ශුද්ධ බයිබලයේ සඳහන් වෙනවා. උන්වහන්සේට සුව කිරීමේ බලය තියෙනවා. පේදුරුතුමා, තමන්ගේ නැන්දණිය සුව කරලා දෙන්න කියා ජේසුස් වහන්සේගෙන් ඉල්ලුවා. ඔහුගේ ඒ ඉල්ලීම නිසයි ඇයට සුවය ලැබුණේ. ඉතිං අපිත් උන්වහන්සේගෙන් සුවය ඉල්ලුවොත් උන්වහන්සේ අපිටත් සුවය ලබා දෙනවා.

ඒ විතරක් නෙවෙයි පේදුරුගේ නැන්දණිය සුවය ලැබූ පසු ජේසුස් වහන්සේට ක්ෂණිකව උපස්ථාන කරනවා. අපිත් ඒ වගේ අපේ ජීවිතයට උන්වහන්සේ කර ඇති දේවල් ගැන ස්තුති කළ යුතුයි. උන්වහන්සේ අපට ලබා දෙන ශක්තියෙන්, අපට පැවරී ඇති වැඩ ඉටු කළ යුතුයි. ඔබ සැමට ජේසු පිහිටයි!

**ළමයි :** බොහොම ස්තුතියි පියතුමනි.... ජේසු පිහිටයි!

**පුංචි මමත් දෙවිඳුන්ගෙන් නිරතුරු සුවය ලබමි.**



**කටපාඩම් පදය**

"නැගිට යන්න. ඔබේ ඇදහිල්ල ඔබ සුව කළේ ය"

ශු. ලූක් 17:19



**පැවරුම**

1. ජේසුස් වහන්සේ පේදුරුගේ නැන්දණියට සුවය දුන් අවස්ථාව චිත්‍රයට නගන්න.
2. ජේසුස් වහන්සේ රෝගීන්ට සුවය ලබාදුන් වෙනත් අවස්ථා දෙකක් ලියන්න.
3. ඔබගේ මිතුරෙකු රෝගී වූ විට ඒ වෙනුවෙන් කළ හැකි යැදුමක් ලියන්න.

# 15 අංශභාග රෝගියෙක් සුවය ලබයි

ශු. මාක් 2 : 1-12

දිනක් ජේසුස් වහන්සේ කපර්ණවුම නම් ගමට ගිය සේක. මේ ගමේ අංශභාග රෝගය වැළඳුණු රෝගියෙක් සිටියේ ය. මොහුට, ජේසුස් වහන්සේ ගැන බොහෝ සේ විශ්වාස කළ මිතුරෝ සතර දෙනෙක් වූහ. පුංචි දුවේ, පුතේ, බලන්නකෝ මේ මිතුරන් සතර දෙනා කළ දේ!

ලොවට උතුම් ජේසුතුමන් කළ කී දෑ මේ අහන්න
ලෙඩ දුක් ඇති අසරණ අය සුව කෙරූ බව සිතට ගන්න
එලෙස කරපු පුදුම දෙයක් දෙව් වදනින් අරන් මෙන්න
අංශභාග රෝගියාගේ කතා පුවත දූන් අසන්න

අංශභාග වූ රෝගියා යහනක වැතිරී සිටියා
හොඳ මිතුරන් සතර දෙනෙක් මේ රෝගියා හට සිටියා
මේ අතරේ ජේසු තුමන් කපර්ණවුමේ වැඩ සිටියා
යහනේ සිටි මිතුරා රැගෙන ජේසුතුමන් වෙතට ගියා

අංශභාග රෝගියාව යහන සමග ගෙන ආවා
ඇතුළුවෙන්න බැරි තරමට සෙනඟ සිටින බව දුටුවා
වහලෙට නැග සෙවිල්ල හැර පියස්ස කඩලා දැමුවා
රෝගිව සිටි මිතුරා සමග ඇඳ පහළට බැස්වූවා



15.1 රූපය - අංශභාග රෝගියාව ජේසුස් වහන්සේ සිටි ස්ථානයට වහලයෙන් බැස්සවූ අවස්ථාව

දුවේ පුතේ මේ කතාව පුංචි ඔබේ සිතට ගන්න
ඔබ සැමගේ යහළුවන්ට සැම විට යහපත කරන්න
දෙවිඳුන් වෙත ඇදහිල්ලෙන් පුංචි ඔබත් දිවිගෙවන්න
මිතුදම් රකිනා අගනා දෙව් දරුවන් මෙන් වැඩෙන්න

ජේසු සමිඳු හට හැකි විය සැම ලෙඩ දුක් සුව කරන්න
අසරණ වූ ජනතාවට නිරතුරු සහනයක් වෙන්න
මේ ඔවදන් පුංචි ඔබත් තව දුරටත් සිතට ගන්න
දුවේ පුතේ පුංචි ඔබත් විශ්වාසෙන් කල්ගෙවන්න

## පුංචි මමත් හොඳ මිතුරෙක් වෙමි; ඇදහිල්ලෙන් ජීවත් වෙමි.



ආදරණීය දෙවි පියාණෙනි,
ඔබ වහන්සේ කෙරෙහි ඇදහිල්ලෙන් ජීවත් වන්නට පුංචි මටත් උදවු කළ මැනව. ඔබ වහන්සේ මට දී ඇති මිතුරන් ගැන ස්තුති කරන අතර ඔවුන්ගේ අවශ්‍යතා උදෙසා සංවේදීවීමට මට උපකාර කළ මැනව.

ආමෙන්.



### පැවරුම

1. ගැළපෙන පිළිතුරු යා කරන්න.

| | |
|---|---|
| • ජේසුස් වහන්සේ වැඩම කළ ගමේ නම වන්නේ | • සුවය |
| • අංශභාග රෝගියා ගෙන ආ මිතුරන් ගණන | • ඇදහිල්ල |
| • අංශභාග රෝගියා ගෙන ආ මිතුරන් තුළ තිබූ ගුණාංගයකි | • වහලයෙනි |
| • අංශභාග රෝගියාගේ යහන ජේසුස් වහන්සේ වෙතට බැස්සවූයේ | • කපර්ණවුම |
| • ජේසුස් වහන්සේ අංශභාග රෝගියාට ලබා දුන්නේ | • හතර දෙනෙකි |

2. මිතුරන් වෙනුවෙන් ඔබට කළ හැකි උපකාර දෙකක් ලියන්න.

# 16 ශුද්ධාත්ම ඵලය

ගලාති 5 : 22




ගුරුතුමිය : අද මට හරි සතුටු දවසක්. අද උදෙන් ම ඔයාලට ඒක කියන්නයි මම ආවේ. විදුහල්පතිතුමායි ඒ පණිවිඩය දෙන්න කීවේ.

රෙබෙකා : මොකක් ද ටීචර්? අපිත් දැනගන්න ආසයි. ටීචර් හරි ම සතුටින් බව පේනවා.

සිසුන් : මොකක් ද ටීචර් ?

ගුරුතුමිය : ඔයාලට මතක ද, අපේ පුස්තකාලයේ ඉපැරණි පොත්පත් සංරක්ෂණය කරන වැඩපිළිවෙළක් තිබුණා. අපේ

පංතියෙන්, අපේ විෂයයට අදාළව රෙබෙකා, සඳුනි, පාලිත, කාලිංග, ධර්මේන්ද්‍ර අපි ඒකට තෝරාගත්තා.

**කාලිංග :** ඔව් ටීචර්, අපට පැවරුණේ පුස්තකාලය භාර සර්ගේ මඟපෙන්වීම යටතේ එහි තිබුණු බයිබල් අටුවා, පැරණි බයිබල්, ඒ ආශ්‍රිත ඉපැරණි පොත්පත් පිළිවෙළට සකස් කරන එකයි.

**ධර්මේන්ද්‍ර:** මේ වැඩය අපට හරි ම අපහසු කාර්යයක් ලෙස දැනුණා. සමහර පොත් පරණයි, කොළ ගැලවිලා. එවා පිළිවෙළට සකස් කරන්න අපට හරියට මහන්සි වෙන්නත් සිද්ධ වුණා. ඒත් අපි ඉවසීමෙන් ඒ වැඩය කළා. අක්කලා අයියලාත් අපට උදවු කළා.

**ගුරුතුමිය :** අන්න ඒක ගැන තමයි මම කතා කරන්නේ. ඔයාලා ඒ වැඩය ඉතා ම ඕනෑකමින්, විශ්වාසවන්තව ඉටු කළා කියලා පුස්තකාල භාර සර් විදුහල්පති තුමාට දන්වලා තියෙනවා.

**සඳුනි :** ටීචර්, ඒ වැඩේ කරන කොට අපිට බයකුත් ඇති වුණා. සර් කිවුවා මේ පුස්තකාලය තමයි ඉතා වැදගත් ඉපැරණි පොත් ආරක්ෂා වෙලා තියෙන පුස්තකාලය කියලා. එහි සමහර පොත් වෙන කොහෙවත් නැහැ කියලා කිවුවා.

**කාලිංග :** ඔව් ටීචර්, අපි හැම දා ම ඒ වැඩේට යනකොට පුස්තකාලයට මෙහා තියෙන අඹ ගහ යටට ගිහින් යාච්ඤා කරලා ගියා. ටීචර් අපිට කලින් කියලා තිබුණෙනේ හැම වැඩක් ම විශ්වාසවන්තව, කලබල නොවී, කල්පනාවෙන් සිත යොමු කරගෙන කරන්න කියලා.

ගුරුතුමිය : ඔව් කාලිංග, ඔයාලට මතක ද මීට කලින් පංතිවල දී ශුද්ධාත්ම ඵලයට සම්බන්ධ ගුණාංග හයක් ගැන ඉගෙන ගත්තා.

ධර්මේන්ද්‍ර: මට නම් මතකයි. ප්‍රේමය, ප්‍රීතිය, සාමය

රෙබෙකා : මමත් කියන්නම්. ඉවසීම, කරුණාව, යහපත්කම.

ගුරුතුමිය : හරියට ම හරි. ශුද්ධාත්ම ඵලයට සම්බන්ධ තවත් ගුණාංග තුනක් තමා විශ්වාසකම, මෘදුකම හා ආත්ම දමනය. ඔයාලා හතර දෙනා ළඟ ඒ ගුණාංග තිබුණ නිසයි ඉවසීමෙන් හැමෝ ම එක්ක කරුණාවෙන්, මෘදු මොළොක් වචන කතා කරමින් ඒ ව්‍යාපෘතිය සම්පූර්ණ කළේ. මට හරි ම සතුටුයි. අපි ඔක්කොම මේ හතර දෙනාට අත්පොළසන් දෙමු.

**ජේසුස් වහන්සේට අයිති දරුවෙකු වීමෙන්, මගේ ජීවිතයෙන් ශුද්ධාත්ම ඵලයට අයත් ගුණාංග ප්‍රකාශ වන බව මම විශ්වාස කරමි.**



යාච්ඤාව

ආදරණීය ජේසුස් වහන්ස, ඔබ වහන්සේ මගේ හදවතට ඇතුළු වන්න. එහි වැඩ වසන්න. ඒ තුළින් ශුද්ධාත්ම ඵලයට අයත් ගුණාංග මා තුළ වර්ධනය කළ මැනව.

ආමෙන්.



පැවරුම

1. ගලාති 5:22 සඳහන් ශුද්ධාත්ම ඵලයට අයත් ගුණාංග මතකයෙන් ලියන්න.
2. එම ශුද්ධාත්ම ඵලයට අයත් ගුණාංග නවය ඇතුළත් කරමින් ස්ව නිර්මාණයක් ඉදිරිපත් කරන්න.

# 17 සුවය ලැබූ ලාදුරු රෝගියා

ශු. මාක් 1 : 40-45

ලාදුරු රෝගී මිනිසෙක්
ජේසුතුමන් වෙතට පැමිණ
දණින් වැටී එතුමන් ළඟ
පවසයි සුව කර දෙන ලෙස//

සමිඳුනි ඔබ කැමතියි නම්
පවිත්‍ර කළ හැක මා අද
ඇදහිල්ලෙන් ඔබතුමා ළඟ
අයැද සිටිමි මම මේ ලෙස//

ලාදුරු රෝගින් සැලකුවේ
පව් කළ සෙනඟක් ලෙසට ය
ඒ නිසා ම මුළු ජුදයෙ ම
කොන් විය ඒ සෙනඟ මෙලෙස//

ජේසුතුමා අසීමිතව
දයානුකම්පාව පෑව
ඔහු පිට අත දිගු කරමින්
මෙලෙස පැවසුවේ ය වදන්//

මම කැමතියි: පවිත්‍ර වනු
එලෙසින් එතුමන් පැවසුවා
සැණෙකින් ලාදුරු රෝගය
පහ වී ඔහු සුව වූවා//



17.1 රූපය - සුවය පතා පැමිණි ලාදුරු රෝගියා

ජේසුතුමන් සුව කළ බව
කිසිවකුටත් නොකියන ලෙස
ඔවදන් දී එතුමන් ඔහු
යැව්වේ පූජකයා වෙත //

සුව වූ ලාදුරු රෝගියා
දස දෙස ගොස් මෙම සිද්ධිය
පතුරා හැරියා මෙලෙසින්
සියලු නුවර වැසියන් හට //

දයානුකම්පාව පෑවා
ජේසුතුමන් සියලු දෙනට
අපිත් පුරුදු වෙමු එලෙසින්
කරුණාවෙන් සලකන්නට //

එතුමන් මෙන් සැම අය හට
කරුණාවෙන් සලකමු අපි
එය හොඳ ගුණයයි කවදත්
පුරුදු පුහුණු වෙමු සැම දෙන//



17.2 රූපය - සුව වූ ලාදුරු රෝගියා සාක්ෂි දැරීම



යාච්ඤාව

දෙවි ස්වාමීනි,

පුංචි මා වෙත ඔබ වහන්සේ වැඩිය මැනව. මාගේ පාපයෙන් මා පවිත්‍ර කළ මැනව. ඔබ වහන්සේගේ කරුණාව මා හට සෑහේ. ඔබ වහන්සේගේ දයානුකම්පාවෙන් මා පුරවාලුව මැනව.

ආමෙන්.



පැවරුම

1. පුංචි ඔබ අසරණ වූ රෝගියෙකුට දයානුකම්පාවෙන් සැලකූ අවස්ථාවක් ගැන විස්තර කරමින් ඔබේ මිතුරෙකුට ලිපියක් ලියන්න.

# 18 යහපත් බැටළු එඬේරාණන් වන ජේසුස් වහන්සේ

ශු. ලූක් 15 : 3-7

**ගුරුතුමිය :** එක්තරා බැටළු එඬේරෙකුට තම බැටළු රැළේ බැටළුවන් සියයක් සිටියා.



18.1 රූපය - එඬේරා බැටළුවන් රැක බලා ගැනීම

**කිතුණි :** කවුද ටීචර්, එඬේරෙක් කියන්නේ?

**ගුරුතුමිය:** එඬේරෙක් කියන්නෙ පුතේ, බැටළුවන් බලා ගන්නා තැනැත්තාටයි. ඔන්න එක දවසක් ඔය රැළේ එක බැටළුවෙකු අඩු වී ඇති බව එඬේරාට තේරුණා.

ළමයි : අනේ පව් නේද?

ගුරුතුමිය: හොඳයි, කියන්න බලන්න එඬේරා මොනවා කරන්න ඇද්ද කියලා?

මානෙල් : ඒ බැටළුවා සොයන්න ඇති.

ගුරුතුමිය: අන්න හරි.



18.2 රූපය - නැති වූ බැටළුවා සොයා යාම

නෙතුල් : එතකොට අර අනූනව දෙනාට මොක ද වෙන්නෙ?

ගුරුතුමිය: ඒ බැටළුවන් ඉතා ආරක්ෂිතව තියලා එඬේරා නැති වුණ බැටළුවා සොයමින් ගියා.

ලහිරු : ඉතින් හම්බ වුණා ද ටීචර්?

ගුරුතුමිය: ඔව්, එඬේරා ඒ නැති වුණු බැටළුවා සම්බ වන තුරු ම සොයලා බැටළුවා සොයා ගත්තා.



18.3 රූපය - නැති වූ බැටළුවා සොයා ගැනීම

යොහාන් : අනේ අපිටත් හරි ම සතුටුයි.

ගුරුතුමිය: අන්න හරි. එඬේරාටත් ඒ වගේ ම ලොකු සතුටක් ඇති වුණා. දන්නවා ද එඬේරා කරපු දේ?



18.4 රූපය - සොයා ගත් බැටළුවා රැගෙන ඒම

ලහිරු : නැති වී සම්බ වූ බැටළුවා කරේ තියාගෙන එන්න ඇති.

ගුරුතුමිය: හරියට ම හරි. එඬේරා බැටළුවා නිවසට ගෙනැවිත් තමාගේ මිතුරන් කැඳවා තම නැති වූ බැටළුවා සම්බ වූ බව පවසා ප්‍රීති ප්‍රමෝද වුණා.

කිතුණි : හරි ලස්සන උපමා කතාවක්.

ගුරුතුමිය: හොඳයි, කියන්න බලන්න උපමා කතාවේ එඬේරාට සමාන කරන්නේ කවුද කියලා?

යොහාන් : ජේසුස් වහන්සේ නේද ටීචර්?

ගුරුතුමිය: ඔව්, ජේසුස් වහන්සේ තමයි, අපේ යහපත් බැටළු එඬේරා.

සෞභාග්‍ය: එතකොට අර නැති වුණ බැටළුවා කවුද?

ගුරුතුමිය: ඒ තමයි වැරදි කරන, අකීකරු වන අය. ජේසුස් වහන්සේගේ ආදරයෙන් ඉවත්ව ගිය අය. බලන්න ජේසුස් වහන්සේ එක ම බැටළුවෙකුවත් නැති වෙන්න ඉඩ නොදී රැක ගත්තා. අප නොමඟ යනවාට උන්වහන්සේ කැමැති නැහැ. එසේ වීමට ඉඩ නොදී නැති වුණ බැටළුවා සොයා ගියාක් මෙන් ජේසුස් වහන්සේ අප සොයා එනවා. ඒ උන්වහන්සේගේ අසීමිත කරුණාව නිසයි. උන්වහන්සේ ඔබ ආදරයෙන් උසුලාගෙන, අසීමිතව කරුණාව පා ඔබ රැක ගන්නවා ඇත.

**මෙම පාඩමෙන් ගත හැකි ආදර්ශ**

- ජේසුස් වහන්සේගේ ආදරය හා රැකවරණය අපට නිරතුරුව ලැබෙන බව
- අප වැරදි කිරීමෙන් ජේසුස් වහන්සේගෙන් ඈත් වූ විට උන්වහන්සේ අප සොයා එන බව
- අප සම්බ වන තුරු ම සොයන බව
- සොයාගත් විට ජේසුස් වහන්සේ බොහෝ සේ ප්‍රීති වන බව
- ජේසුස් වහන්සේගේ අසීමිත කරුණාව අප කෙරේ ඇති බව



**යාච්ඤාව**

**ආදරණීය ජේසුස් වහන්ස,**

**ඔබ වහන්සේ මාගේ යහපත් එඬේරාණෝ ය. මා අතින් සිදු වන වැරදිවලට සමාව දුන මැනව. ඔබ වහන්සේ ළඟ මා රඳවා ගත මැනව.**

**ආමෙන්.**



**පැවරුම**

1. මෙම උපමා කතාවේ "යහපත් බැටළු එඬේරා" වන ජේසුස් වහන්සේ තුළ තිබූ ගුණාංග දෙකක් ලියන්න.
2. ඔබ යහළුවන්ට අසීමිතව කරුණාව දැක්වූ අවස්ථාවක් කුඩා කවියකින් ඉදිරිපත් කරන්න.

# 19 ජේසුස් වහන්සේ හා සාකෙවුස්

ශු. ලූක් 19 : 1-10

ජේසුස් වහන්සේ සුවිශේෂී ආකාරයට මිනිසුන් සමග ක්‍රියා කළ කෙනෙක් වූහ. උන්වහන්සේ සමාජය නොපිළිගත් අය පවා පිළිගත් සේක. එපමණක් නොව, සමාජයේ පව්කාරයින් ලෙස නම් කළ අය සමග පවා එතුමා සුහද වූ සේක.

එකල සාකෙවුස් නම් ඉතා මිටි මනුෂ්‍යයෙක් විය. ඔහු ධනවත් අයකැමියෙකි. දිනක් ජේසුස් වහන්සේ ජෙරිකෝව නැමැති නගරයට පැමිණි බව ඔහුට ආරංචි විය. ජේසුස් වහන්සේ පව්කාරයින්ගේ හා සුංගම් අයකරන්නන්ගේ හොඳ මිත්‍රයකු වූ බව සෙනඟ දැන සිටියහ. එම නිසා සාකෙවුස්ට ද ජේසුස් වහන්සේ දැක ගැනීමේ මහත් ආශාවක් විය.




ජේසුස් වහන්සේ පැමිණ ගස උඩ බලා....
සාකෙවුස් වහා ම බිමට බසින්න. අද මට ඔබේ ගෙදර නවාතැන් ඕනෑ.


සාකෙවුස් සේවකයින්ට උපදෙස් ලබා දේ
සේවකයිනි.... ඉක්මන් කරන්න අද මාගේ ගෙදරට ජේසුස් වහන්සේ එනවා.


රැස්ව සිටි ජනතාව කොඳුරමින්
පව්කාර සාකෙවුස්ගේ ගෙදරට නේද ජේසුතුමා යන්නේ?
බලමුකෝ

සාකෙවුස් ජේසුස් වහන්සේ තම නිවසට පිළිගනියි.








**ජේසුස් වහන්සේ මුණගැසුණු පසු සාකෙවුස් .....**

★ අවංකව පසුතැවිලි විය.

★ තම ජීවිතය වෙනස් කර ගත්තේ ය.

★ බොහෝ වෙනස් මනුෂ්‍යයෙක් විය.

★ ජේසුස් වහන්සේ අදහා ගත්තේ ය.

★ පාපයෙන් ගැලවීම ලැබුවේ ය.



යාච්ඤාව

ස්වාමීනී, ඔබ වහන්සේ අකැමැති සිතුවිලි සියල්ල මා තුළ ඇති පාපයන් ය. මට සමා වුව මැනව. මා අතින් සිදු වූ වැරදි පිළිගෙන යහපත් දරුවෙකු වන්නට ශක්තිය දුන මැනව.

ආමෙන්.



පැවරුම

1. සාකෙවුස් කළ ප්‍රකාශ දෙක ලියා දක්වන්න.

2. පහත දැක්වෙන කෙටි ගීතිකාව සාමූහිකව ගායනා කරන්න.

හරි ම මිටියි හරි ම මිටියි – සාකෙවුස් මිටි<br>
දවසක් දා ඔහුට ජේසු – බලන්නට සිතේ<br>
පාර පුරා සෙනඟ ගොඩයි – ජේසුව නොපෙනේ<br>
අත්තික්කා ගහකට නැග – ජේසුව බැලුවයි//

# 20 දෙවිඳුන්ට කීකරු වූ සාමුවෙල්

1 සාමුවෙල් 3 : 1-10

නිසල් පුතා,

මේ දවස්වල සබත් පාසලට ආවේ නැත්තේ ඇයි? අසනීපයෙන් ද? මම පුතා එනතුරු මඟ බලාගෙන ඉන්නවා. ඔයාගේ අම්මට කියන්නකො, මට කතා කරන්න කියලා.

මීට,
සබත් පාසල් ගුරුතුමිය,
රූත්



නිසල්ගේ මව ගුරුතුමියට දුරකතනයෙන් ඇමතුමක් ලබා දෙයි.

මව : අපේ නිසල්ගේ සබත් පාසලේ ටීචර් ද කතා කරන්නේ?

ගුරුතුමිය: ඔව්, අනෝජා ටීචර් තමයි කතා කරන්නේ.

අම්මා : අනේ ටීචර් බලන්නකො, නිසල්ට සබත් පාසලට යන්න කියලා කොච්චර කිව්වත් එයා බැහැ කියනවනේ.

ගුරුතුමිය: ඒ මොක ද හේතුව?
කෝ පුතා?

**අම්මා :** ටීචර්ට යවන්න කියල ලිපියක් ලියනවා.

**ගුරුතුමිය:** හොඳයි එහෙනම් එවන්න කියන්නකෝ ලිපිය.

දයාබර ටීචර්,
මට සබත් පාසලට එන්න ඕනෑ. ඒත් දන් දවස් ගාණක් එනවා කියා මම ටීචර්ට බොරු කිව්වා. මගේ හිත මට දොස් කියනවා. ඒකයි ටීචර් මම නොආවේ. අනික මගේ අතින් තමා ටීචර්ගේ පොත ඉරිලා ගියේ. මට සමාවෙන්න.



මීට,
නිසල්

(ලිපිය ලැබුණ විගස ම ගුරුතුමිය නිසල්ගේ නිවසට පැමිණියා ය)

**ගුරුතුමිය:** කෝ නිසල්, නිසල් පුතා!
මට ඔයාගේ ලිපිය ලැබුණා. ඒ නිසයි මම ආවේ. ඔයා හොඳ කීකරු දරුවෙක්. ඔයා කුඩා සාමුවෙල් වගේ ම වෙනවා දකින්න මම සතුටුයි.

**නිසල් :** සාමුවෙල් වගේ! ඒ කවුද ටීචර්?

**ගුරුතුමිය:** සාමුවෙල් ඔයා වගේ ම පොඩි පිරිමි ළමයෙක්. හැදී වැඩුණේ ඒලී පූජකයා ළඟ. දවසක් සාමුවෙල්ට තම නම කියා කවුදෝ කතා කරන හඬ ඇසුණා. සාමුවෙල් ඒලී පූජකයා වෙත ගොස් "ඔබ මට කතා කළෙහි ද?" යි ඇසුවා. එවිට තමා කතා නොකළ බව ඒලී පූජකයා සාමුවෙල්ට පැවසුවා. මෙසේ තුන්වන වතාවටත් කතා කරන හඬ ඇසුණා. එලෙස කතා කරන්නේ දෙවියන් වහන්සේ බව දැනගත් ඒලී පූජකයා දෙවියන් වහන්සේගේ හඬට ඇහුම්කන් දෙන ලෙස දන්වා සිටියා. හතරවන අවස්ථාවේ තම නම කියා කතා කළ විට සාමුවෙල් මෙසේ පැවසුවා.

"කතා කළ මැනව. ඔබ වහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටී" යනුවෙන් සාමුවෙල් බොහොම හොඳට කීකරු වචනයෙන් දෙවියන් වහන්සේට පිළිතුරු දුන්නා.



20.1 රූපය - ඒලී පූජකයා සහ කුඩා සාමුවෙල්

**නිසල් :** අනේ මටත් සාමුවෙල් වගේ වෙන්න ආසයි. මටත් දෙවියන් වහන්සේ කතා කරයි ද?

**ගුරුතුමිය:** ඔව්, පුංචි ඔබත් දෙවියන් වහන්සේ විශේෂ වැඩ සඳහා තෝරාගෙන තියෙනවා. අවශ්‍ය වන්නේ එතුමාට කීකරුව සවන් දී සිටීමයි. දෙවියන් වහන්සේගේ අරමුණු විවිධයි. ඒවා විවිධ පණිවිඩ ආකාරයෙන් ලබා දීමට පුංචි ඔබත් තෝරා ගන්න පුළුවන්. හැබැයි ඒ පණිවිඩ දැනගන්න නම් යාච්ඤාවෙන් දෙවියන් වහන්සේට ළංව ජීවත් වෙන්න ඕනෑ.

**නිසල් :** දෙවියන් වහන්සේට ළංව ජීවත් වන්නේ කොහොම ද ටීචර්?

**ගුරුතුමිය:** එදා කුඩා සාමුවෙල් පුංචි පුංචි වැඩ කරමින් දේව මාළිගාවේ ම ජීවත් වුණා. එයා දෙවියන් වහන්සේට ළංව සිටි බව නම් හොඳට ම විශ්වාසයි. යාච්ඤාවෙන් දෙවියන් වහන්සේට ළං වුණා. දෙවියන් වහන්සේ

ඔබෙන් බලාපොරොත්තු වෙනවා උන්වහන්සේට ළංව සිටිමින්, සේවය කිරීම. මට හොඳට ම විශ්වාසයි උන්වහන්සේට සේවය කිරීමට ඔබවත් තෝරාගෙන තිබෙන බවට.

**නිසල් :** මේ මාව?

**ගුරුතුමිය:** ඇහුම්කන් දීගෙන ඉන්න. ඔබට දෙවියන් වහන්සේ කතා කරලා ඉවරයි. දේව වචනය මගින් කතා කරන්නට දේව මඟපෙන්වීම ලබා දෙන්නට දෙවියන් වහන්සේ ඔයා වෙනුවෙන් මඟ බලාගෙන ඉන්නවා. මේ වගේ දෙවියන් වහන්සේට කීකරු වන්නට ඔයා කැමතියි නේද?

**නිසල් :** සාමුවෙල් වගේ මමත් කීකරු වෙනවා. සබත් පාසලට ඇවිත් දේව හඬට ඇහුම්කන් දෙන්න මම ඉගෙන ගන්නවා. ගෙදරදිත් යාච්ඤා කරනවා; දෙවියන් වහන්සේ මාවත් සුවිශේෂී වැඩවලට තෝරා ගනීවි.

හිමියනි කතා කරන්න
ඔබ මෙහෙකරුට
යොමුව ඇත මගේ කන්
ඔබ හඬ අසන්නට
කතා කරන් ස්වාමිනේ
කිම්ද ඔබ කියන්නේ





යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි,

දේව වචනය තුළින් ඇසෙන ඔබ වහන්සේගේ හඬට කීකරු වීමට ද දෙමාපියන්ටත්, ගුරුවරුන්ටත් කීකරු වීමට ද මට පිහිට වුව මැනව. ඔබ වහන්සේගේ සේවා ඉටු කිරීමට මට ශක්තිය දුන මැනව.

ආමෙන්.



පැවරුම

1. පුංචි ඔබ දෙමාපියන්ට කීකරු විය යුතු අවස්ථා **දෙකක්** ලියන්න.
2. සාමුවෙල් මෙන් පුංචි ඔබත් දෙමාපියන්ට කීකරු වූ අවස්ථාවක් චිත්‍රයට නඟන්න.

# 21 ළමා වියේ රජ වූ ජොෂියා

**2 රාජාවලිය 22 : 1-2**

ඊශ්‍රායෙල් දේශයේ බිහිවුණු පුංචි වීරයෙකු ගැන ශුද්ධ බයිබලයේ සඳහන් වේ. ඔහුගේ නම ජොෂියා ය. ජොෂියා රජුගේ මව ජෙදිදා ය. ජොෂියා වයස අවුරුදු අටේ දී රජකමට පත් වූ අතර ඔහු කුඩා දරුවෙකු වුවත් දේව සැලැස්ම ඉටු කිරීමට කුඩා කාලයේ දී ම දෙවියන් වහන්සේ විසින් ඔහු තෝරා පත් කරගනු ලැබිණි.



21.1 රූපය - කුඩා ජොෂියා රජතුමා

ශුද්ධ බයිබලයේ සඳහන් වන ආකාරයට ඔහු කුඩා කාලයේ පටන් දෙවියන් වහන්සේ ඉදිරියේ නිවැරදි දේ කිරීමට කටයුතු කළේ ය; දාවිත් රජතුමා ආදර්ශයට ගනිමින් දෙවියන් වහන්සේ ඉදිරියේ යහපත්ව සිටියේ ය. දාවිත්ට පොරොන්දු වූ ආකාරයට

දාවිත්ගේ වංශය ඉදිරියට ගෙන යාමට දෙවියන් වහන්සේ කුඩා ජොෂියා රජතුමා තෝරා ගත් සේක.

දස පනතේ ඇති නීති රීති හා ආඥාවලට කීකරු වී ජීවත් වූ කුඩා ජොෂියා රජු ඔහුගේ ජීවිතය තුළ දේව නීතිය ප්‍රතිපත්තියක් කර ගනිමින් ජීවත් විය.

මෙසේ ජොෂියා රජතුමා දෙවියන් වහන්සේට ආදරය කළ බවත් කුඩා කල පටන් ඔහු යම් විශේෂ වැඩකට තෝරා පත් කළ බවත්, ඔහුට එය කළ හැකි වූ බවත් අපට පෙනී යයි.

**පුංචි ඔබත් ජොෂියා රජු මෙන්,**

- දෙවියන් වහන්සේ ඉදිරියේ නිවැරදි දේ කරන්න.
- කුඩා වයසේ සිට දෙවියන් වහන්සේට පමණක් නමස්කාර කරන්න.
- දේව නීති රීති, ආඥා රකින්න.
- නිර්භීතව දේව කැමැත්ත ඉටු කරන්න.
- යහපත් චරිත ආදර්ශයට ගන්න.
- දේවස්ථානයේ ඔබට පැවරී ඇති වැඩ යහපත් ලෙස සිදු කරන්න.
- නිරතුරු අන්‍යයන්ට ආදර්ශයක් වන්න.



ජොෂියා රජුගේ ජීවිතයෙන් පුංචි ඔබේ ජීවිතයටත් බොහෝ යහපත් ගුණාංග ලබා ගත හැකි ය. එම ගුණාංග ඔබේ ජීවිතය තුළින් වර්ධනය කර ගනිමින්, දෙවියන් වහන්සේ ඉදිරියේ නිවැරදි දේ කරමින්, ස්වර්ග රාජ්‍යයේ කිරුළක් පුංචි ඔබත් හිමි කර ගන්න.

**පුංචි මමත් දේව පනත් ඉටු කිරීමට ක්‍රියා කරමි.**



ආදරණීය දෙවියන් වහන්ස,
පුංචි මටත් නිවැරදි දේ කරන්නට පිහිට වුව මැනව. දේව කැමැත්තට කුඩා කල පටන් අවනත වීමටත්, යහපත් ආදර්ශවත් ජීවිතයක් ගත කිරීමටත් මට ආශීර්වාද කළ මැනව.

ආමෙන්.



පැවරුම

1. ජොෂියා රජුට රජකම හිමිවූයේ කිනම් වයසේ දී ද?
2. ජොෂියා රජුගේ මවගේ නම කුමක් ද?
3. ජොෂියා රජකම් කළේ කොහේ ද?
4. ජොෂියා රජුගේ යහපත් ගුණාංග **තුනක්** ලියන්න.
5. ඔබ තුළ ඇති යහපත් ගුණාංග **තුනක්** ලියන්න.

# 22 දේව කැමැත්තට අවනත වූ මරිය තුමිය

**ශු. ලූක් 1 : 26-31**

ගලීලයේ නාසරෙත් නම් නුවර මරියා නමැති ලස්සන තරුණියක් ජීවත් වූවා ය. මරියා ඉතා ම යහපත් කෙනෙකි. ඇ විවාහ වන්නට සිටියේ දාවිත් රජතුමාගේ පරපුරෙන් පැවත එන ජෝසෙප් සමග ය.

දිනක්, දෙවියන් වහන්සේ ගාබ්‍රියෙල් දේව දූතයා මරිය තුමිය ළඟට යැවූ සේක.



මරිය තුමිය කොපමණ යහපත් කාන්තාවක් ද? අප හැම දෙනාගේ ම ජීවිතවලට දෙවියන් වහන්සේගේ සැලැස්මක් තිබේ. එලෙස ම මරිය තුමිය ද දෙවියන් වහන්සේ විසින් ජේසු බිළිඳාගේ මව වීමට තෝරා පත්කර ගන්නා ලද්දී ය. ඒ දේව කැමැත්ත ඉටු වීමයි.

මරිය තුමිය ගාබ්‍රියෙල් දේව දූතයාගේ පණිවිඩය ඇසූ සැණෙකින් ඇගේ සිත කැළඹෙන්නට විය. නමුත් ඈ දේව අණට කීකරු වී දේව කැමැත්තට අවනත වූවා ය.

මරිය තුමිය තම ජීවිතය සම්පූර්ණයෙන් ම දෙවියන් වහන්සේට භාර කළා ය. සතුටු සිතින් එම සුපුවත පිළිගෙන දේව කැමැත්තට ඉඩ දුන්නා ය.

මරිය තුමියට එය එතරම් පහසු කටයුත්තක් නොවී ය. මිනිසුන්ගෙන් ගැරහුම්, අපහාස, නින්දා විඳින්නට ඇයට සිදු වන්නට ඇත. එහෙත් ඒ සියල්ලට වඩා තම ජීවිතය දෙවියන් වහන්සේට මුළුමනින් ම භාර කළ මරිය තුමිය තම කැමැත්තට වඩා දේව කැමැත්ත ඉෂ්ට කිරීමට තරම් දිරිය කාන්තාවක් වූවා ය.

| මරිය තුමිය | මම ද |
|---|---|
| • දේව කැමැත්ත හඳුනා ගත්තා ය. | • දේව කැමැත්ත හඳුනා ගනිමි. |
| • දේව කැමැත්තට අවනත වූවා ය. | • දේව කැමැත්තට අවනත වෙමි. |
| • දේව කැමැත්ත ඉටුවීමට ඉඩ දුන්නා ය. | • දේව කැමැත්ත ඉටුවීමට ඉඩ දෙමි. |
| • අභියෝග භාර ගත්තා ය. | • අභියෝග භාර ගනිමි. |
| • දේව කැමැත්ත ඉටුවීම මගින් ආශීර්වාද ලැබූවා ය. | • දේව කැමැත්ත ඉටු කිරීම මගින් ආශීර්වාද ලබා ගනිමි. |



## කටපාඩම් පදය

සිසුවෙකු මෙන්
එතුමන්ට සවන් දෙන පිණිස
මහෝත්තම දෙවි සමිඳාණෝ
හැම උදයක ම
මා තුළ උනන්දුවක්
ඇති කරවන සේක.

යෙසායා 50:4



## පැවරුම

1. පහත දක්වෙන ගීතය, ගුරුතුමිය සමඟ එකතුව ගායනා කරන්න.

"ඔබ කැමති දේ සාදන්න
කුම්භකරුනි මා මැටි ය
හැඩ ගසන්න ඔබ සිත් සේ
භාර වෙමි මම බලා සිටිමි"

2. මරිය තුමියගේ චරිත ලක්ෂණ ඇසුරින් ඔබගේ ජීවිතයට ගත හැකි ආදර්ශ **තුනක්** ලියන්න.

3. පහත දක්වෙන ප්‍රකාශ හරි නම් (✓) ලකුණ ද වැරදි නම් (×) ලකුණ ද යොදන්න.

i. මරිය තුමියට ජේසු උපත දැනුම් දුන්නේ ගාබ්‍රියෙල් දේව දූතයා ය. ( )

ii. මෙම සුපුවත ඇසූ සැණෙන් ඇය අතිශයින් කැළඹුණා ය. ( )

iii. ඇය කැළඹුණු සිත් ඇතිව දේව කැමැත්තට අකැමැති වූවා ය. ( )

iv. අපි සැම විට ම දේව කැමැත්ත පිළිගත යුතු වෙමු. ( )

v. දේව කැමැත්ත දැන ගැනීමට යාච්ඤාව උපකාරී වේ. ( )

# 23 ආබ්‍රහම්

උත්පත්ති 18 : 22-33



23.1 රූපය - අනතුර වැළැක්වීමට සිරිමල් මැදිහත් වෙයි.

සිරිමල් ඉතා ම යහපත් දරුවෙකි. ඔහු ජීවත් වූයේ දුම්රිය පාර අසල නිවෙසක ය. ඔහුගේ නිවස ඉදිරිපිට රේල් ගේට්ටුවක් නොමැති පාරක් ද තිබුණි. දිනක් හදිසියේ ම වේගයෙන් පැමිණි පාපැදිකරුවෙක් රේල් පාර හරහා සිය පාපැදිය දැමුවේ ය. ඔහුට එහි වේගය පාලනය කර ගැනීමට බැරි විය. බයිසිකලය පෙරළී, එහි සිටි ළමයා බිම ඇද වැටුණි. කෝච්චියේ නළා හඬ ඇතින් ඇසෙන විට "අයියෝ මාව බේර ගන්න!" යනුවෙන් රේල්පාර මැද වැටී සිටින ළමයා කෑගසන්නට විය. සිරිමල් මෙය දැක වහා ම ක්‍රියාත්මක විය. කෝච්චිය ඇතින් එන බව දැනගත් සිරිමල් වහා ම තමා ඇඳගෙන උන් රතුපාට කමිසය ගලවා, එය වනමින් මහ හයියෙන් කෑ ගැසුවේ ය. ඒ හඬ ඇසුණු පියදස මාමා, කමලා නැන්දා සහ සිමියොන් මාමා දුවගෙන විත් සිහිය නැතුව වැටී සිටි ළමයා බේරා ගත්හ. ඒ සමග ම දුම්රියේ තිරිංග මහත් හඬක් නංවමින් දුම්රිය ද නතර වූයේ සිරිමල් රතු කමිසය වනනු රියැදුරු දුටු නිසා ය.

සිරිමල් ඉතා ම යහපත් දරුවෙකි. සිරිමල්ගේ මැදහත්වීම නිසා සිදුවීමට ගිය විශාල අනතුරකින් ජීවිතයක් ගලවා ගැනීමට ඔහුට හැකියාව ලැබිණි.

අද අපට නියමිතව ඇත්තේ උත්පත්ති 18 : 22-33 දක්වා බයිබල් කොටස ය.

එම කොටසේ ද දැක්වෙන්නේ ආබ්‍රහම් තුමා සොදොම් හා ගොමෝරා දේශය වෙනුවෙන් දෙවියන් වහන්සේට කළ මැදහත්වීමේ කතා පුවතයි. සොදෙම් හා ගොමෝරා දේශයේ සිටි සෙනග ඉතා නපුරු මිනිස්සු වූහ. ඔවුන්ගේ නපුරුකම නිසා ඔවුන් විනාශ වන්නට යන බව දුටු ආබ්‍රහම් තුමා දෙවියන් වහන්සේට ඔවුන් වෙනුවෙන් කන්නලවු කරමින් මැදහත් විය. කෙසේ හෝ මේ සෙනඟ ගලවාදෙන ලෙස එතුමා දෙවියන් වහන්සේගෙන් ඉල්ලී ය.



23.2 රූපය - ආබ්‍රහම් දෙවියන් ඉදිරියේ කන්නලවු කිරීම

එම සිද්ධි තුළින් ආබ්‍රහම් තුමාගේ ජීවිතයේ තිබූ යහපත් ගුණාංග අපට මෙසේ හඳුනා ගත හැකි ය.

- ආබ්‍රහම් දැහැමි මනුෂ්‍යයෙක් වීම
- ආබ්‍රහම් අන් අය ගැන අනුකම්පාවෙන් ක්‍රියා කළ පුද්ගලයෙක් වීම
- දෙවියන් වහන්සේට සමීප මනුෂ්‍යයෙක් වීම
- පවිටු මිනිසුන් වෙනුවෙන් මැදිහත් වීම
- අන් අය ගලවනු පිණිස අවසාන මොහොත දක්වා මැදිහත් වෙමින් කටයුතු කිරීම
- නොපසුබස්නා උත්සාහයක් පැවතීම
- අන් අයගේ යහපත වෙනුවෙන් ක්‍රියා කිරීම

ආබ්‍රහම් සොදොම් හා ගොමෝරා විනාශ වන්නට යන අවස්ථාවේ මැදහත් විය. සුනිමල් විනාශවීමට ගිය ජීවිතය බේරා ගැනීමට මැදිහත් විය. මෙම චරිත ආදර්ශයට ගන්නා පුංචි ඔබට ද අන් අයගේ යහපත උදෙසා මැදිහත් විය හැකි බව සිතට ගෙන ක්‍රියා කරන්න.



## පැවරුම

1. 4 ශ්‍රේණියේ ඉගෙනුම ලබන ඔබ අන් අයට යහපත්කම් කිරීම උදෙසා මැදහත් වූ අවස්ථා **තුනක්** ලියා දක්වන්න.
2. නිවැරදි අදහස ලැබෙන ලෙස මෙම වාක්‍ය කොටස් ගළපන්න.

   i. වෙමු / මැදිහත් කාරයෝ / අන් අය උදෙසා

   ii. ජීවත් වෙමු / සමීපව / දෙවියන් වහන්සේට

   iii. ජීවත්වීම / දේව කැමැත්ත වේ / අප යහපත් ලෙස

# 24 පාවුලු සහ ඔනේසිමස්

පිලෙමොන් 9 : 12



අද 2019.10.22 වන දිනයයි.

දුල්සර තම දිනපොත ආරම්භ කරමින් තම පැන්සල් තුඩින් මෙසේ ලියන්නට පටන් ගත්තේ ය.

අද අපේ පන්තියට අලුත් ළමයෙක් ආවා. එයාගේ නම සපුමල්. එයා ඇඳගෙන ආ කමිසයේ පැත්තකින් මැහුම් ලිහිලා තිබුණා. කිසි ම කෙනෙක් එයත් එක්ක කතා කළේ නැහැ. එයා ලොකු දුකකින් තමා හිටියේ. මට ද එයා ගැන ලොකු දුකක් දැනුණා.



අද 2019/10/23 වන දිනයයි.

මම උදෙන් ම පාසලට ගියා. මම කෙළින් ම ගියේ යහළුවා සොයාගෙනයි. ඊයේ ඔයත් එක්ක කවුරුත් කතා කළේ නැති නිසා ඔයාගේ හිත රිදුණා ද කියා මම ඇහුවා. ඉන් පස්සේ මම ජේසුස් වහන්සේගේ ප්‍රේමය ගැන ඔහුට කියලා දුන්නා.



අද 2019/10/24 වන දිනයයි.

මම අදත් ගියේ සපුමල් සොයාගෙනයි. ඔහු මා වැළඳ ගත්තා. මාත් සමග ඇඬුවා. මම කිවුවා ඔයා තමයි මගේ හොඳ ම යහළුවා කියලා. මට මතක් වුණේ පාවුලු තුමා හා ඔනේසිමස්ගේ කතාවයි.

පාවුලු තුමා යනු ජේසුස් වහන්සේගේ අනුගාමිකයෙකි. ජේසුස් වහන්සේට සේවය කිරීම නිසා පාවුලු තුමා සිරගත කර තිබුණි. එම හිර ගෙදර දී පාවුලු තුමාට ඔනේසිමස් මුණ ගැසුණි. ඔනේසිමස් යනු සේවකයෙකි. ඒත් පාවුලු තුමා ඔහුට ආදරය කළේ ය.



24.1 රූපය - පාවුලු සහ ඔනේසිමස් සිර ගෙදර දී හමු වීම

මෙම සිදුවීම කොපමණ ප්‍රේමනීය ද කියනවානම් පාවුලු තුමා තම හදවත සේ, ඔනේසිමස් හැඳින්වීය. එම පිළිගැනීම අප සැම දෙනාට ම මහත් ආදර්ශයකි.

ඔනේසිමස් පිළිබඳව පාවුලු තුමා තම දිනපොතෙහි සටහන් කරන්නට විය.



24.2 රූපය - පාවුලු තුමා සිරගෙදර දී තම දිනපොත සටහන් කිරීම

**සිර ගෙදර පළමු දිනය**

මා සිරගෙදර සිටිය දී ඔනේසිමස් නම් තරුණයෙකු මුණ ගැසිණි. යම් වරදකට ඔනේසිමස් සිරගත කර තිබිණි. මෙම තරුණයා සමග ජේසුස් වහන්සේ ගැන කතා කිරීමට මම සිතා ගත්තෙමි. ඔහු පිලෙමොන් නම් මාගේ මිත්‍රයාගේ නිවසේ සේවකයකු ලෙස සිටි බව මට මතක ය.

**සිර ගෙදර දෙවන දිනය**

මම ඔනේසිමස්ට ජේසුස් වහන්සේගේ ප්‍රේමය ගැන කියා දුන්නෙමි. ඔහු ද ජේසුස් වහන්සේට ආදරය කරන්නට සහ උන්වහන්සේ තම ජීවිතයට පිළිගැනීමට කැමති විය. පාවුලු වන මමත් ඔහුට ප්‍රේම කරමි. ඔනේසිමස් වෙනුවෙන් යමක් කළ යුතු බව මට දැනුණි. ඔහු සේවය කළ නිවසට පිටත් කිරීමට අවශ්‍යව තිබෙන බව මට හැඟුණි. මේ ගැන ඔහුගේ ස්වාමියා වන මා මිත්‍ර පිලෙමොන් සමග කතා කරන්නට අවශ්‍යයි. හැකි නම් ලිපියක් ලියන්නට අවශ්‍ය බව මට හැඟුණි.

## සිර ගෙදර තෙවන දිනය

මම පිලෙමොන්ට මෙසේ ලීවෙමි.
"ඔනේසිමස් මාගේ ආදරණීය දරුවෙකු බවට පත් වී ඇත. එම නිසා ඔහුට සමාව දී දාසයෙකු ලෙස නොව සහෝදරයෙකු ලෙස පිළිගන්න."

මට විශ්වාසයි,
මා මිත්‍ර පිලෙමොන් ඔනේසිමස් මා වෙනුවෙන් සහෝදරයකු ලෙස පිළිගන්නා බව. ජේසුස් වහන්සේගෙන් ලැබූ ආදරය පිලෙමොන් විසින් ඔනේසිමස්ට දක්වන බව මම දනිමි.

ආදරණීය දුවේ පුතේ, මෙම අවස්ථාව ඉතා ම ආදර්ශවත් අවස්ථාවක්. ජාති, ආගම්, කුල, පන්ති වැනි භේද අමතක කර සැම දෙනා ම එක හා සමාන ලෙස පිළිගත හැකි නම් ඔබත් වටිනා දරුවෙක්.



24.3 රූපය - එකමුතුව සිටින ළමුන් පිරිසක්

පුංචි ඔබටත් පාවුලු තුමාගේ ජීවිතයෙන් මහත් ආදර්ශයක් ගත හැකි බව විශ්වාසයි.



**යාච්ඤාව**

**ආදරණීය දෙවි පියාණෙනි, අපට ද පාවුලු තුමන් ලෙස සැම දෙනාහට ම එක ලෙස සලකන්නට කියා දුන් නිසා ස්තුතියි. සැම දෙනා එක ලෙස පිළිගනිමින් ප්‍රේම කරන්නට පුංචි මම ද පොරොන්දු වෙමි.**

**ආමෙන්.**



**පැවරුම**

1. ගැළපෙන පිළිතුර තෝරා පහත දැක්වෙන ඡේදය සම්පූර්ණ කරන්න.

   **(දාසයෙකු / පිලෙමොන් / සහෝදරයෙකු / සිර ගෙදර / ඔනේසිමස්)**

පාවුලු තුමා .............................. සිටිය දී .............................. නම් තරුණයා මුණගැසුණි. ඔහු .............................. ලෙස නොව .............................. ලෙස පිළිගන්නා ලෙස තම හිතවත් .............................. වෙත පාවුලු තුමා විසින් දන්වා යවන ලදි.

2. පහත දක්වා ඇති විරිදු පෙළ ගායනා කරන්න.

පාවුලු හට ඔනේසිමස්
හමුවූයේ සිර ගෙදර දි
ඔනේසිමස්ට දේව වදන
ලැබුණේ එහි සිටින විට ය

තම හද බඳු ඔනේසිමස්
වහලෙකු බව අමතක කොට
සහෝදරකමින් පුදනට
පිලෙමොන්ගෙන් ඉල්ලූවා

# 25 එස්තර්

**එස්තර් 4 : 13-16**

බයිබලයේ සඳහන් වන එස්තර් ඉතා ම නිර්භීත කාන්තාවක් වූවා ය. ඇය ජුදෙව් ඉතිහාස කථාවේ ඉතා ම වැදගත් කාන්තා චරිතයකි. ජුදෙව් කාන්තාවක වූ එස්තර් හට අහෂ්වේරොෂ් රජුගේ බිසව වීමට අවස්ථාවක් ලැබිණි. එය සැබවින් ම දෙවියන් වහන්සේගේ මහා සැලැස්මෙහි ප්‍රතිඵලයක් ලෙස අපට හඳුනා ගත හැකි ය. ඇය තුළ තිබූ නිර්භීතකම නිසා ම ඇ ජුදා ඉතිහාසයේ වීරවරියක ලෙස හඳුන්වනු ලබයි.



25.1 රූපය - අහෂ්වේරෝෂ් රජු



25.2 රූපය - එස්තර් බිසව



25.3 රූපය - මොර්දෙකයි



25.4 රූපය - හාමාන්


25.5 රූපය - එස්තර් අහෂ්වේරෝෂ් රජු ඉදිරියේ සිටීම

හාමාන් විසින් අහෂ්වේරෝෂ් රජතුමා නොමඟ යවා ජුදා ජාතිකයින් විනාශ කරන ලෙස රාජාඥාවක් ලියවා නිකුත් කර හරින ලදි. එයට හේතුව වූයේ මොර්දෙකයි නම් තැනැත්තා ඔහුට හිස නවා ආචාර නොකළ නිසා ඇති වූ වෛරයයි.

එවිට එස්තර්ගේ ඥාතියෙකු වන මොර්දෙකයි විසින් අහෂ්වේරෝෂ් රජුගේ සිත වෙනස් කිරීමට මැදිහත් වන ලෙස, එස්තර්ට දන්වා හරින ලදි.

**එස්තර් වෙත,**
"ඔබ රජ ගෙදර සිටින නිසා, සියලු ජුදෙව්වරුන් අතරෙන් ඔබ පමණක් ගැලවෙති යි කියා නොසිතන්න. නැතහොත් ඔබේ පිය ජුදා වංශය නැතිවනු ඇත. ඔබ රජු ළඟට ගොස් තම සෙනඟ උදෙසා කන්නලවු කර නිදහස් කරවන්න"

මීට,
මොර්දෙකයි

**මොර්දෙකයි වෙත,**
"ගොස් සූසාහි සිටින සියලු ජුදෙව්වරුන් රැස් කරවා මා උදෙසා නිරාහාරව දින තුනක් යාච්ඤා කරන්න. රජුගේ කරුණාව නැතිව එතුමා ඉදිරියට යාම නීති විරෝධී වුවත්, මම රජු ළඟට යන්නෙමි. මා මැරුණොත් මැරුණාවේ!"

මීට,
එස්තර්

ජුදා ජාතික එස්තර් බිසව රජු ඉදිරියට යෑමට තරම් නිර්භීත වූවා ය. එසේ නිර්භීත තීරණයකට එළඹීම කාන්තාවක ලෙසට ඉතාමත් අපහසු කාර්යයකි. ඇය ප්‍රශ්න ඉදිරියේ දී යාච්ඤාව හා දේව මඟපෙන්වීම සෙවූ කෙනෙකු බව පැහැදිලි වෙයි. එම නිසා තමා වෙනුවෙන් නිරාහාරයෙන් සිට විශ්වාසයෙන් යුතුව යාච්ඤා කරන ලෙස සූසාහි සෙනඟට ඇය පැවසුවා ය. මොර්දෙකයි ඇතුළු සූසාහි සිටින සියලු ජුදෙව්වරු එස්තර් වෙනුවෙන් මැදහත්ව දෙවියන් වහන්සේට යාච්ඤා කළහ. එම යාච්ඤාව ඉතා සුවිශේෂී වේ. ඒ මන්ද යත් ඔවුන් නිරාහාරව දවස් තුනක් එනම් රෑ සහ දවල් තුනක් එක්සත්ව, එක්සිත්ව යාච්ඤා කිරීමයි.



25.6 රූපය - මොර්දෙකයි ඇතුළු සූසාහි ජනතාව යාච්ඤා කිරීම



## කටපාඩම් පදය

හිමි සඳ මාගේ ආලෝකය හා විමුක්තියයි. මම කිසිවෙකුට බිය නොවෙමි. හිමි සඳ මාගේ ජීව ශක්තියයි. මට භීතියක් නැත.

ගීතාවලිය 27:1



## පැවරුම

1. එස්තර්ගේ චරිතය තුළ දක්නට ඇති යහපත් චරිත ලක්ෂණ තෝරා යා කරන්න.

එස්තර්

- නිර්භීතව ක්‍රියා කිරීම
- යාච්ඤාවට අන් අය යොමු කිරීම
- අවශ්‍ය තැන ඉදිරිපත්වීම
- සැඟවීමට උත්සාහ කිරීම
- දොස් පැවරීම
- තම සෙනඟට උපකාර කිරීම
- වීරවරියක ලෙස කටයුතු කිරීම
- යාච්ඤාවෙන් ජීවත්වීම